# ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රය

අංක 2,053 - 2018 ජනවාරි මස 05 වැනි සිකුරාදා - 2018.01.05

(රජයේ බලයපිට ප්‍රසිද්ධ කරන ලදී)

## I වැනි කොටස : (IIආ) වැනි ඡෙදය - පළකිරීම්

(වෙන වෙනම ගොනු කර ගත හැකි පරිදි සෑම කොටසකට ම අයත් එක් එක් භාෂාවකට වෙන වෙනම පිටු අංක යොදා ඇත)



*සැ. යු.* -(i) සිවිල් ගුවන් සේවා (සංශෝධන) පනත් කෙටුම්පත 2018 ජනවාරි මස 05 වැනි දින *ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රයේ* II වැනි කොටසේ අතිරේකයක් වශයෙන් පළකරන ලදී.

(ii) වෛද්‍ය එස්. එස්. ගුණවර්ධන දේශීය ආයුර්වේද සංවර්ධන පදනම (සංස්ථාගත කිරීමේ) පනත් කෙටුම්පත 2018 ජනවාරි මස 05 වැනි දින *ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රයේ* II වැනි කොටසේ අතිරේකයක් වශයෙන් පළකරන ලදී.

**සතිපතා නිකුත් වන ගැසට් පත්‍රයෙහි පළකිරීම සඳහා භාරගනු ලබන දැන්වීම් පිළිබඳ**

### වැදගත් නිවේදනයයි

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ *ගැසට් පත්‍රයේ* අවසන් පිටුවේ සෑම මාසයක ම මුල් සතියේ දී පළ කරන නිවේදන භාරගන්නා දිනයන් සහ වේලාවන් පිළිබඳව මින් අවධානය යොමු කරනු ලැබේ.

*ගැසට් පත්‍රයේ* පළකිරීම සඳහා දැන්වීම් භාරගැනීම *ගැසට් පත්‍රය* පළකරනු ලබන දිනයට සති දෙකකට පෙර සිකුරාදා දිනයෙහි දහවල් 12.00ට අවසන් කරනු ලැබේ. තනතුරු - ඇබෑර්තු, විභාග, ටෙන්ඩර් සහ වෙන්දේසි පිළිබඳ දැන්වීම්වල අවසන් දින සහ වේලාවන් ඒ පිළිබඳව උනන්දුවක් දක්වන අයට ප්‍රමාණවත් කාල වේලාවක් ලැබෙන පරිදි යොදාගත යුතු බවට, සියලු ම දෙපාර්තමේන්තු, සංස්ථා සහ මණ්ඩල යනාදිය වගබලාගත යුතු බව මින් අවධාරණය කෙරේ. පළකිරීම සඳහා එවනු ලබන සෑම දැන්වීමක් ම තනි පැත්තේ පමණක් පැහැදිලිව පිටපත් කළ යුතු ය. නිරවද්‍යතාවය පිළිබඳව කරන විමසීම් සහ පැමිණිලි *ගැසට් පත්‍රය* පළ වූ දින සිට **තෙමසකට** පසුව භාරගනු නොලැබේ.

*ගැසට් පත්‍රයේ* පළකරන සෑම දැන්වීමක් ම *ගැසට් පත්‍රය* පළකරනු ලබන දිනට සති දෙකකට පෙර (එනම්, 2018 ජනවාරි මස 26 වැනි දින පළ කෙරෙන *ගැසට් පත්‍රයේ* දැන්වීම් 2018 ජනවාරි මස 12 වැනි දින දහවල් 12.00ට හෝ ඊට පෙර) තැපෑලෙන් හෝ ගෙනැවිත් රජයේ මුද්‍රණාලයට භාරදිය යුතු ය.

**2006 අංක 19 දරන ඉලෙක්ට්‍රොනික ගණුදෙනු පනත - 9 වැනි වගන්තිය**

*" යම් ප්‍රකාශනයක්, රීතියක්, නියෝගයක්, නියමයක්, අතුරු ව්‍යවස්ථාවක්, නිවේදනයක් හෝ වෙනත් කිසිවක් ගැසට් පත්‍රයේ පළකළ යුතු බවට යම් පනතකින් හෝ නීති ප්‍රඥප්තියකින් විධිවිධාන සලස්වා ඇති අවස්ථාවක, ඒ රීතිය, නියෝගය, නියමය, අතුරු ව්‍යවස්ථාව, නිවේදනය හෝ වෙනත් දෙය ඉලෙක්ට්‍රොනික ස්වරූපයේ වන ගැසට් පත්‍රයක පළකරනු ලැබුවහොත් ඒ විධිවිධානය සම්පූර්ණකර ඇත්තාක් සේ සැලකිය යුතුය."*

**ගංගානි ලියනගේ,**
රජයේ මුද්‍රණාලයාධිපති *(වැ. බ.)*.

2018 ජනවාරි මස 01 වැනි දින,
කොළඹ 08,
රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ දී ය.

*මෙම ගැසට් පත්‍රය www. documents.gov. lk වෙබ් අඩවියෙන් බාගත කළ හැක.*

# ටෙන්ඩර් කැඳවීමේ දැන්වීම්

**අම්පාර දිසා/මහෙස්ත්‍රාත් අධිකරනය මගින් රාජසන්තක කරන ලද රථ වාහන ටෙන්ඩර් මගින් විකිණීම**

පහත සඳහන් නඩු අංක සහිත වාහන සඳහා ටෙන්ඩර්පත් 2018.01.05 වැනි දින සිට 2018.02.01 වැනි දින පෙ.ව. 10.30 දක්වා භාරගනු ලැබේ.

දිසා/මහෙස්ත්‍රාත් අධිකරණය - අම්පාර.

| *අනු අංකය* | *නඩු අංකය* | *වාහන අංකය* | *වාහන වර්ගය* | *ආපසු ගෙවන ඇපතැන්පත් මුදල රු. ශ.* |
|---|---|---|---|---|
| 1 | 60249 | UP LE 0542 | ලොරි රථය | 2,000.0 |
| 2 | 66648 | EP LH 4913 | ලොරි රථය | 2,000.0 |
| 3 | 66082 | WP PF 2994 | කැබ් රථය | 5,000.0 |
| 4 | 51260 | EP JY 2430 | ට්‍රැක්ටරය සහ කොකු නගුල | 5,000.0 |
| 5 | 75148 | EP BCL 6360 | යතුරු පැදිය | 1,000.0 |

ටෙන්ඩර් ඉල්ලුම්කරු අදළ වාහනයට අයත් ආපසු ගෙවනු ලබන ඇප තැන්පත් මුදල අම්පාර මහාධිකරණයේ තැන්පත් කළ යුතු අතර, ආපසු නොගෙවනු ලබන රු. 100/- ක මුදල ගෙවා ටෙන්ඩර් ඉල්ලුම්පත්‍ර හා විස්තර 2018.02.01 වැනි දින පෙ.ව. 10.30 දක්වා ටෙන්ඩර් ඉල්ලුම්කරුට හෝ ඔහුගේ බලයලත් නියෝජිතයෙකුට අම්පාර මහාධිකරණයේ ගිණුම් අංශයෙන් ලබාගත හැක.

මුද්‍රා තබන ලද ටෙන්ඩර්පත් ප්‍රසම්පාදන කමිටුවේ සභාපති ගරු මහාධිකරණ විනිසුරුතුමා, මහාධිකරණය, අම්පාර යන ලිපිනයට ලියාපදිංචි තැපෑලෙන් එවීම හෝ මහාධිකරණයට පැමිණ ගිණුම් අංශයේ තබා ඇති ටෙන්ඩර් පෙට්ටියට බහාලීම කළ යුතුය. ටෙන්ඩර්පත් බහාලන ලියුම් කවරයේ වම්පස ඉහළ කෙළවරේ "රථවාහන සඳහා ටෙන්ඩර් කැඳවීම - 2018" ලෙස හා වාහන අංකය පැහැදිලිව සඳහන් කළ යුතුය.

ටෙන්ඩර්කරුට හෝ ඔහුගේ බලයලත් නියෝජිතයෙකුට කාර්යාල වේලාව තුළ අදළ අධිකරණයේ රෙජිස්ට්‍රාර්වරයා හමුවී තම අනන්‍යතාවය තහවුරු කර වෙන්දේසි වාහන පරීක්ෂා කර බැලිය හැකිය.

ටෙන්ඩර්පත් බාර ගැනීම 2018.02.01 වැනි දින පෙ.ව. 10.30 ට අවසන් වේ. තැපෑලෙන් ප්‍රමාදවී ලැබෙන ටෙන්ඩර් පත් භාර ගනු නොලැබේ. තවද තක්සේරු වටිනාකමට අඩුවෙන් ඉල්ලුම් කරන ඉල්ලුම්පත්‍ර ප්‍රතික්ෂේප වේ.

ටෙන්ඩර්පත් බාර ගන්නා අවසන් දින ටෙන්ඩර්කරුවන් හෝ ඔවුන්ගේ බලයලත් නියෝජිතයන් මහාධිකරණය, අම්පාර වෙත පැමිණ සිටිය යුතු අතර, 2018.02.01 වැනි දින ප.ව. 2.00 ට ටෙන්ඩර්පත් විවෘත කර මිළ ගණන් ප්‍රකාශයට පත් කරනු ලැබේ.

අනතුරුව අම්පාර මහාධිකරණයේ ප්‍රසම්පාදන කමිටුව මගින් වැඩිම මිළ ගණන් ඉදිරිපත් කළ ඉල්ලුම්කරුවන්ට ටෙන්ඩරය පිරිනැමීමට අවශ්‍ය කටයුතු කරනු ලබයි.

එම තීරණය අදළ ටෙන්ඩර්කරුට දැනුම්දීමෙන් අනතුරුව සතියක් ඉක්ම යාමට පෙර වාහනයට අදළ මුදල ගෙවීමෙන් පසු ටෙන්ඩර්කරුට හෝ බලය පැවරූ නියෝජිතයාට තමන්ගේ අනන්‍යතාවය තහවුරු කිරීමෙන් පසුව වාහනය මුදා හරිනු ලබන අතර එදිනම එය අධිකරණ භූමියෙන් ඉවත් කර ගත යුතු වේ.

චෙක්පත් භාර නොගන්නා අතර, මුදල් පමණක් භාරගනු ලැබේ.

මෙම ටෙන්ඩරය සම්බන්ධයෙන් අම්පාර මහාධිකරණ ප්‍රසම්පාදන කමිටුවේ තීරණය අවසාන තීරණය වේ.

සනත් ජේ. මොරවක,
නැගෙනහිර පළාත්බද මහාධිකරණ විනිසුරු,
මහාධිකරණය,
අම්පාර.

2017 දෙසැම්බර් මස 07 වැනි දින,
අම්පාර මහාධිකරණයේ දී ය.

01-13

# බඩු බාහිරාදිය විකිණීම්

**ශ්‍රී ලංකා පොලීසිය - විශේෂ කාර්ය බලකාය**

භාවිතයට ගත නොහැකි වාහන සහ යතුරුපැදි ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

විශේෂ කාර්ය බලකායේ භාවිතයෙන් ඉවත් කරන ලද පහත සඳහන් වාහන හා යතුරුපැදි 2018.01.10 වැනි දින පෙරවරු 9.15 ට විශේෂ කාර්ය බලකාය කිරිදිවැල උප කඳවුර (මාලිගාවත්ත උපාලි ගුණරත්න ක්‍රීඩාංගනය පාර) යන ස්ථානයේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ වෙන්දේසි කරනු ලබන අතර, එදින වෙන්දේසිය සිදු කිරීමට නොහැකි වුවහොත් 2018.01.11 වැනි දින ද, වෙන්දේසි කටයුතු සිදු කරනු ලබයි. වෙන්දේසි භූමියට පෙරවරු 8.00 සිට ඇතුළුවිය හැකි ය. වෙන්දේසියේ විකිණීමට නියමිත වාහන හා යතුරුපැදි 2018.01.10 වැනි දින පෙරවරු 8.00 සිට 9.00 දක්වා පරීක්ෂා කර බැලිය හැක. වෙන්දේසි භූමියට ඇතුළුවීම සඳහා තම අනන්‍යතාවය ඔප්පු කිරීම සඳහා ජාතික හැඳුනුම්පත ඉදිරිපත් කළ යුතු අතර, මෙම වෙන්දේසි භූමියට ඇතුළුවීම සඳහා එක් අයෙකුගෙන් ආපසු නොගෙවන රු. 1,000 ක මුදලක් අයකරනු ලැබේ.

**විකිණීමට නියමිත වාහන හා යතුරු පැදි.**

| | | | | |
|---|---|---|---|---|
| 1. | JP - 1470 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 2. | JP - 2607 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 3. | JP - 2600 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 4. | JP - 1477 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 5. | JO - 0396 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 6. | JO - 0362 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 7. | JO - 0815 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 8. | JO - 0374 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 9. | JO - 0413 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 10. | JO - 0376 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 11. | JO - 0811 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 12. | JO - 0809 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 13. | JO - 0415 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 14. | GC - 8267 | YAMAHA CT 175 | යතුරුපැදිය | |
| 15. | GC - 8159 | YAMAHA CT 175 | යතුරුපැදිය | |
| 16. | GC - 8251 | YAMAHA CT 175 | යතුරුපැදිය | |
| 17. | GC - 8156 | YAMAHA CT 175 | යතුරුපැදිය | |
| 18. | GC - 8160 | YAMAHA CT 175 | යතුරුපැදිය | |
| 19. | GL - 2264 | YAMAHA XT 225 | යතුරුපැදිය | |
| 20. | 143 - 3641 | YAMAHA XR 250 | යතුරුපැදිය | (කොටස් කර අබලි වශයෙන් විකිණීම) |
| 21. | 90 - 5497 | HONDA CG 125 | යතුරුපැදිය | |
| 22. | 158 - 3874 | SUZUKI 185 | යතුරුපැදිය | |
| 23. | 157 - 5425 | SUZUKI GN 250 | යතුරුපැදිය | (කොටස් කර අබලි වශයෙන් විකිණීම) |
| 24. | 103 - 5346 | SUZUKI GN 250 | යතුරුපැදිය | |
| 25. | 103 - 5320 | SUZUKI GN 250 | යතුරුපැදිය | |
| 26. | GY - 1925 | BAJAJ CALIBER | යතුරුපැදිය | |
| 27. | GY - 1943 | BAJAJ CALIBER | යතුරුපැදිය | |
| 28. | GZ - 4365 | HERO PUCH | යතුරුපැදිය | (කොටස් කර අබලි වශයෙන් විකිණීම) |
| 29. | GZ - 4362 | HERO PUCH | යතුරුපැදිය | |
| 30. | JO - 0806 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 31. | JO - 0369 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 32. | GY - 1899 | BAJAJ CALIBER | යතුරුපැදිය | |
| 33. | 130 - 5892 | HONDA CD 200 | යතුරුපැදිය | |
| 34. | JO - 0366 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 35. | JO - 0371 | BAJAJ WIND | යතුරුපැදිය | |
| 36. | 60- 6690 | ISUZU JOURNEY | බස් රථය | |

| | | | |
|---|---|---|---|
| 37. | GI - 4388 | LELAND බස් රථය | |
| 38. | 62 - 4763 | TATA බස් රථය | |
| 39. | 61 - 1873 | TATA බස් රථය | |
| 40. | 32 - 4328 | MITSUBISHI PAJERO | |
| 41. | JP - 5156 | TATA SINGLE කැබ් රථය | |
| 42. | HE - 2370 | TATA SUMO ජීප් රථය | |
| 43. | HE - 2351 | TATA SUMO ජීප් රථය | |
| 44. | 32 - 0890 | LAND ROVER 110 ජීප් රථය | |
| 45. | 32 - 0892 | LAND ROVER 110 ජීප් රථය | |
| 46. | 32 - 3397 | LAND ROVER 110 ජීප් රථය | |
| 47. | 32 - 3401 | LAND ROVER 110 ජීප් රථය | |
| 48. | 32 - 4609 | LAND ROVER ජීප් රථය | |
| 49. | 51 - 8638 | LAND ROVER ජීප් රථය | |
| 50. | 17 - 5461 | BAJAJ THREE WHEEL | (කොටස් කර අබලි වශයෙන් විකිණීම) |
| 51. | RB - 0570 | ට්‍රැක්ටර් රථය | |
| 52. | 37 - 8619 | ට්‍රැක්ටර් රථය | |
| 53. | 74 - 8909 | ට්‍රැක්ටර් රථය | |
| 54. | GI - 7503 | අත් ට්‍රැක්ටර් රථය | |
| 55. | 340- 3155 | අත් ට්‍රැක්ටර් රථය | |
| 56. | 74 - 8909 | අත් ට්‍රැක්ටර් රථය | |
| 57. | GI - 7504 | අත් ට්‍රැක්ටර් රථය | (කොටස් කර අබලි වශයෙන් විකිණීම) |
| 58. | 340-3151 | අත් ට්‍රැක්ටර් රථය | |
| 59. | 340 - 3152 | අත් ට්‍රැක්ටර් රථය | |
| 60. | 74 - 8908 | අත් ට්‍රැක්ටර් රථය | |
| 61. | 340 - 3157 | අත් ට්‍රැක්ටර් රථය | |
| 62. | 340 - 3220 | අත් ට්‍රැක්ටර් රථය | |
| 63. | GI - 7506 | අත් ට්‍රැක්ටර් රථය | |
| 64. | SA - 4116 | අත් ට්‍රැක්ටර් රථය | |
| 65. | 40 - 7193 | TATA ට්‍රක් රථය | |
| 66. | 41 - 6189 | TATA 1210 ට්‍රක් රථය | |
| 67. | 41 - 0157 | TATA 1210 ට්‍රක් රථය | |
| 68. | 41 - 7944 | TATA 1210 ට්‍රක් රථය | |
| 69. | 41 - 0148 | TATA ට්‍රක් රථය | |
| 70. | 41 - 0155 | TATA ට්‍රක් රථය | |
| 71. | 41 - 6179 | TATA ට්‍රක් රථය | |
| 72. | 42 - 1341 | TATA ට්‍රක් රථය | |
| 73. | 61 - 1872 | TATA ට්‍රක් රථය | |
| 74. | 61 - 5584 | TATA ට්‍රක් රථය | |
| 75. | 41 - 0562 | TATA ට්‍රක් රථය | |
| 76. | 41 - 0553 | ට්‍රක් රථය | |
| 77. | 41 - 7946 | ට්‍රක් රථය | |
| 78. | 41 - 6180 | ට්‍රක් රථය | |
| 79. | 41 - 7912 | ට්‍රක් රථය | |
| 80. | 41 - 6182 | ට්‍රක් රථය | |
| 81. | 42 - 1435 | ට්‍රක් රථය | |
| 82. | 41 - 6188 | ට්‍රක් රථය | |
| 83. | 47 - 3428 | ට්‍රක් රථය | |
| 84. | 41 - 7911 | ට්‍රක් රථය | |
| 85. | 40 - 7197 | ට්‍රක් රථය | |
| 86. | 41 - 7948 | ට්‍රක් රථය | |
| 87. | 41 - 0152 | ට්‍රක් රථය | |
| 87. | 41 - 0152 | ට්‍රක් රථය | |
| 88. | 52 - 4347 | L 300 වෑන් රථය | |
| 89. | 60 - 6559 | NISAN වෑන් රථය | |

| | | | |
|---|---|---|---|
| 90. | 48 - 5798 | L 300 ගිලන් රථය | (කොටස් කර අබලි වශයෙන් විකිණීම) |
| 91. | GA - 8901 | ගිලන් රථය | |
| 92. | 19 - 0176 | MITSUBISHI LANCER කාර් රථය | |
| 93. | 19 - 0182 | MITSUBISHI LANCER කාර් රථය | |
| 94. | 19 - 4428 | MITSUBISHI LANCER කාර් රථය | |
| 95. | 18 -3790 | TOYOTA COROLLA EE 100 කාර් රථය | |
| 96. | 43 - 6790 | බවුසර් රථය | |
| 97. | HS - 1610 | ටෙලර් බවුසර් රථය | |
| 98. | 48 - 5881 | බවුසර් රථය | |
| 99. | 47 -8459 | බවුසර් රථය | |

එම්. ආර්. ලතීෆ්,
ජ්‍යෙෂ්ඨ නියෝජ්‍ය පොලිස්පති,
අණදෙන නිලධාරි,
විශේෂ කාර්ය බලකාය.

01-84

# රජයේ නොවන දැන්වීම්

### ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීම

තිස්සමහාරාම, හැලබගස්වල අංක 287 හි පදිංචි නාකුලුගමුවගේ ප්‍රසාද් (ජා. හැ. අ. 862491530 වී) වන මම අවිස්සාවේල්ල මහාධිකරණ කලාපයෙහි මහමුනි ප්‍රියංකා මැග්ලියන් අබේරත්න ප්‍රසිද්ධ නොතාරිස් තැන සහතික කළ අංක 627 හා 2017.05.07 දිනැති විශේෂ ඇටෝර්නි බලපත්‍රයෙන් මාගේ ඇටෝර්නි බලකරු ලෙස ගල්ගමුව අමුණුකැලේ, සුනිල් ස්ටෝර්ස්, අංක 56 හි පදිංචි ගල්විතාන අතුකෝරාලලාගේ දීප්ති ප්‍රියංකා ජයසිංහ (ජා. හැ. අ. 765073235 වී) පත් කරන ලදී. එම ඇටෝර්නි බලපත්‍රය 2017.12.11 වැනි දින සිට අවලංගු කර ප්‍රත්‍යාදිෂ්ඨ කළ බවත් තවදුරටත් එහි කාර්ය සඳහා මා වගනොකියන බවත් ශ්‍රී ලංකාවාසී සියල්ලන්ටම දැනුම් දෙමි.

01-11

### දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ සමාගමක් ලියාපදිංචි කිරීම පිළිබඳව නිවේදනය කිරීම.

සමාගමේ නම : ද ටී ට්‍රස්ට් කම්පැනි (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 122030
ලියාපදිංචි කාර්යාලය : අංක 441, මීගමු පාර වත්තල,

ද ටී ට්‍රස්ට් කම්පැණි (ප්‍රයිවට්) ලිමිටඩ් වෙනුවෙන්,
සමාගම් ලේකම්.

01-57

### දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ පහත සඳහන් සමාගම සංස්ථාගත කරන ලදී.

සමාගමේ නම : ෆ්ලවර්ගාර්ඩ්න් එකෝ විලේජ් (ප්‍රයිවට්) ලිමිටඩ්
සංස්ථාගත කළ දිනය : 2017 නොවැම්බර් මස 13
සමාගමේ ලියාපදිංචි අංකය : පී වී 127180
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : අංක 201/ඩී, තලකොට පාර, ඉහලගල, සීගිරිය.

කේ. වයි. ඇසෝසියේට්ස් පුද්ගලික සමාගම,
ලේකම්.

01-58

### දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ පහත සඳහන් සමාගම සංස්ථාගත කරන ලදී.

සමාගමේ නම : ආර් සී ජේ කන්ස්ට්‍රක්ෂන් (ප්‍රයිවෙට්) ලිමිටඩ්
සංස්ථාගත කළ දිනය : 2017 නොවැම්බර් මස 13
සමාගමේ ලියාපදිංචි අංකය : පී වී 127193
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : අංක 133, ඉහලවඩුගොඩ, පයාගල.

කේ. වයි. ඇසෝසියේට්ස් පුද්ගලික සමාගම,
ලේකම්.

01-59

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ පහත සඳහන් සමාගම සංස්ථාගත කරන ලදී.

සමාගමේ නම : ඒ ජේ ෆුවෙල් මාර්ට් (ප්‍රයිවෙට්) ලිමිටඩ්
සංස්ථාගත කළ දිනය : 2017 නොවැම්බර් මස 13
සමාගමේ ලියාපදිංචි අංකය : පී වී 127191
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : අංක 439, මතුගම පාර, දර්ගා නගරය.

කේ. වයි. ඇසෝසියෙට්ස් පුද්ගලික සමාගම,
ලේකම්.

01-60

---

## සමාගමක් සංස්ථාපනය කිරීම පිළිබඳ නිවේදනය

පහත සඳහන් සමාගම සංස්ථාපනය කරන ලද බව 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය ප්‍රකාර මෙයින් නිවේදනය කරනු ලැබේ.

සමාගමේ නම : ඩවීන්ට් ඇන්ජිමොන් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි කාර්යාලයෙහි ලිපිනය : 14, කාසල් පටුමග, කොළඹ 04.
සමාගමේ අංකය : පීවී 124700
සංස්ථාපනය කළ දිනය : 2017.08.28

සීඑස් කෝපරේට් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලේකම්වරු.

01 - 61

---

## සමාගමක් ලියාපදිංචි කිරීම පිළිබඳ ප්‍රසිද්ධ දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වන වගන්තිය යටතේ සීමාසහිත පුද්ගලික සමාගමක් ලෙස ලියාපදිංචි කිරීම පිළිබඳ දැනුම් දීමයි.

සමාගමේ නම : ෂින් රියල් එස්ටේට් ඇන්ඩ් කන්ස්ට්‍රක්ෂන්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 127818
සමාගම සංස්ථාපනය කළ දිනය : 2017.12.06
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : අංක 89/4, හොරණ පාර, කැස්බෑව, පිළියන්දල.

නීතිඥ කේ. ඒ. එම්. එච්. කොඩිතුවක්කු,
සමාගම් ලේකම්.

01-66

## ප්‍රසිද්ධ දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 09 වන වගන්තිය යටතේ පහත සඳහන් සමාගම් සංස්ථාපනය කිරීම පිළිබඳව වන දැන්වීමයි.

01. සමාගමේ නාමය : නැවුරෝලික්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි අංකය : පී වී 127003
ලියාපදිංචි ලිපිනය : අංක 1174, ධම්මෝදය මාවත, බත්තරමුල්ල.

02. සමාගමේ නාමය : ඇප්ප්‍රොමැක්ස් කෝපරේට් සර්විසස් (පීවීටී) එල්ටීඩී
ලියාපදිංචි අංකය : පීවී 123178
ලියාපදිංචි ලිපිනය : අංක 36/1/ඒ 2, නීතිඥ කාර්යාල සංකීර්ණය, ශාන්ත සෙබෙස්තියන් කන්ද, කොළඹ 12.

03. සමාගමේ නාමය : ටෙඩ්ස් රියල් එස්ටේට් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි අංකය : පී වී 123123
ලියාපදිංචි ලිපිනය : 40, කඩවත පාර, කළුබෝවිල.

01-75

---

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 5 වගන්තිය යටතේ පහත නම සඳහන් සමාගම ලියාපදිංචි කළ බව දැන්වීමයි.

සමාගමේ නම : අයි නැනෝ ටෙක්නොලොජීස් (පීවීටී) එල්ටීඩී
සමාගමේ අංකය : පී වී 83483
ලියාපදිංචි කරන ලද දිනය : 2012 ජනවාරි 03
ලියාපදිංචි කාර්යාලය : අංක 18/1, කැකුලාවල පෙදෙස, ගංගොඩවිල, නුගේගොඩ.
සමාගම් ලේකම් : මොහමඩ් රිෂාන් මොහමඩ් රෂ්මින්.

01-78

---

## ප්‍රසිද්ධ දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 242 (1) කොටස ප්‍රකාරව මොරිසන් පී. එල්. සී. (පීකිව් 77) සහ එම් එස් ජේ ඉන්ඩස්ට්‍රීස් (සිලෝන්) (ප්‍රයිවට්) ලිමිටඩ් (පීවී 1374) ඒකාබද්ධ කිරීම

2007 අංක 7 දරන සමාගම් පනතේ 242 (3) (බී) කොටස ප්‍රකාරව (''පනත'') මෙහිලා නිවේදනය කරනු ලබන වගනම් මොරිසන් පී. එල්. සී. (පී කිව් 77) සහ එම් එස් ජේ ඉන්ඩස්ට්‍රීස් (සිලෝන්) (ප්‍රයිවට්) ලිමිටඩ් (පීවී 1374) වෙන් වෙන් ව සමාගම්වල අධ්‍යක්ෂ මණ්ඩල විසින් සම්මත කරගන්නා ලද යෝජනා තුළින් පෙර කී පනතේ 242 (1) කොටසට අනුකූලව මොරිසන් පී. එල්. සී. සමග එම් එස් ජේ ඉන්ඩස්ට්‍රීස් (සිලෝන්) (ප්‍රයිවට්) ලිමිටඩ් ඒකාබද්ධ කිරීමට තීරණය කරන ලදී.

ඒකාබද්ධ කරන ලද සමාගමේ නාමය මොරිසන් පී. එල්. සී. වන අතර ඒකාබද්ධ වීම 2018 පෙබරවාරි මස 7 දින හෝ සමාගම් රෙජිස්ට්‍රාර් විසින් තීරණය කරනු ලබන දිනයකදී සිදු කෙරෙනු ඇත.

පනතේ 242 (4) කොටසට අනුකූලව ඒකාබද්ධ කිරීමේ යෝජනාවේ අඩංගු කරුණු අනුව ඒකාබද්ධ කිරීමේ යෝජනාව සම්මත වූ බවට සැළකෙන අතර එම කරුණු ඕනෑම කොටස් හිමිකරුවෙකුට හෝ ඒකාබද්ධ කෙරෙන සමාගමක ඕනෑම ණයකරුවෙකුට හෝ ඒකාබද්ධ කෙරෙන සමාගම් සමග කිසියම් අයුරකින් බැඳී සිටින පුද්ගලයෙකුට ''හේමාස් හවුස්'' 75 බේබෘක් පෙදෙස, කොළඹ 2, ලිපිනයෙහි දී සාමාන්‍ය වැඩකරන වේලාවන් තුළ දී පරීක්ෂා කර බැලීම සඳහා තබා ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

මොරිසන් පී. එල්. සී.,
හේමාස් කෝපරේට් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලේකම්වරු.

එම් එස් ජේ ඉන්ඩස්ට්‍රීස් (සිලෝන් (ප්‍රයිවට්) ලිමිටඩ්
හේමාස් කෝපරේට් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලේකම්වරු.

01-85

---

## ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීම

ලුණුවිල තැපැල් වසමේ හාල්දඬුවන, කළුදියවල වත්ත හි පදිංචි කරුණානායක ලියනගේ ස්වර්ණා සේපාලිකා (ජා. හැ. අ. 716260402 වී) වන මම මහජනතාවට සහ ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයට දන්වා සිටින වග නම්, ලුණුවිල තැපැල් වසමේ, හාල්දඬුවන, කළුදියවල වත්ත හි පදිංචි කරුණානායක ලියනගේ ඩෙනිස් ගැමුණු සංජය (ජා. හැ. අ. 771180590 වී) යන අයට බලය පවරන ලද ඒ. ඒ. රොෂාන්ති පී. එල්. ප්‍රනාන්දු නීතිඥ සහ ප්‍රසිද්ධ නොතාරිස්තැන කෙටුම්පත් කරන ලද 2015.03.26 වන දින ඉතාලි රෝම තානාපති කාර්යාලයේ දී අත්සන් තබන ලද ලිඛිත බලධාරිකම් සහ ඇටෝර්නි බලපත්‍ර පොතේ 83 කාණ්ඩයේ 6294 පත්තිරුවේ 1368 දින පොත් අංකය යටතේ ලියාපදිංචි කරන ලද ඇටෝර්නි බලපත්‍රය අද දින සිට අවලංගු සහ බලරහිත වන බව ද, මෙදින පටන් කරුණානායක ලියනගේ ඩෙනිස් ගැමුණු සංජය යන අය විසින් මා වෙනුවෙන් සහ මාගේ නමින් කරනු ලබන කිසිදු ගනුදෙනුවකට බලපැවැත්මක් නොමැති බව ද, මෙයින් දැනුම් දෙනු ලැබේ.

01-86

## මහජනතාව වෙත දැනුම් දීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ පහත සඳහන් සීමාසහිත පෞද්ගලික සමාගම 2017 සැප්තැම්බර් මස 14 වැනි ද පිහිටු වූ බව මෙයින් දන්වා සිටිනු ලැබේ.

සමාගමේ නම : ඊසි ලන්කානෙට් පෞද්ගලික සමාගම
සමාගමේ අංකය : පී වී 125502
ලියාපදිංචි කාර්යාලය : අංක 209/6, කල්‍යානපුර, ගෝමරන්කඩවල, ත්‍රිකුණාමලය.

සමාගම් ලේකම්.

01-133

---

## මහජනතාව වෙත දැනුම්දීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ පහත සඳහන් සීමාසහිත පෞද්ගලික සමාගම 2017 නොවැම්බර් මස 20 වැනි ද පිහිට වූ බව මෙයින් දන්වා සිටිනු ලැබේ.

සමාගමේ නම : යුනිතින්ක් ඉන්ටර්නැෂනල් පෞද්ගලික සමාගම
සමාගමේ අංකය : පී වී 127385
ලියාපදිංචි කාර්යාලය : අංක 63/ඒ/6, වීර කැප්පෙටිපොල මාවත, බණ්ඩාරවත්ත, ගම්පහ.

සමාගම් ලේකම්.

01-134

---

## නිවේදනයයි

පහත සඳහන් සමාගම සංස්ථාපනය කරන ලද බවට 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ කරනු ලබන නිවේදනයයි.

සමාගමේ නම : මැරයින් ෂිප්ස් ඒජන්සිස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සංස්ථාපනය කිරීමේ දිනය : 2017 දෙසැම්බර් 04
සමාගමේ අංකය : පීවී 127749
ලියාපදිංචි කාර්යාලය : අංක 156 1/1, වාලුකාරාම පාර, කොළඹ 03.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

පී. ආර්. කෝපරේට් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
අධ්‍යක්ෂ.

01-141

## ප්‍රසිද්ධ දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය අනුව පහත සඳහන් සීමාසහිත සමාගම සංස්ථාගත කරන ලද බව මෙයින් දැනුම් දෙනු ලැබේ.

සමාගමේ නම : සෙනුරි ක්‍රෙඩිට් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි අංකය : පී වී 125523
ලියාපදිංචි කළ දිනය : 2017.09.13
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : අංක 49, යුගල නිවාස, එල්. එස්. පාර, අනුරාධපුර.

නීතිඥ එච්. එම්. සරත් විජයරත්න,
සමාගමේ ලේකම්.

01-164

## නිවේදනයයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ සංස්ථාගත කිරීම පිළිබඳ දැන්වීමයි.

සමාගමේ නම : ඩු - පාල් වී වී වී (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 127772
සංස්ථාගත කිරීමේ දිනය : 2017.12.05
ලියාපදිංචි කාර්යාලය : 2 වැනි මහල, 209/2, යුනියන් පෙදෙස, කොළඹ 02.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ඩී. එස්. ටී. මිරිහාන,
සමාගමේ ලේකම්.

01-171

## පොදු නිවේදනය

2007 අංක 07 දරන සමාගම් පනතේ 8 ජේදයේ නියමයන්ට අනුකූලව ''බොන්ටෙරා ලංකා ලිමිටඩ්'' නාමය ''බොන්ටෙරා ලිමිටඩ්'' වශයෙන් වෙනස් කළ බව 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (2) ජේදය යටතේ මින් නිවේදනය කරනු ලැබේ.

සමාගම කලින් හැඳින්වූ නාමය : බොන්ටෙරා ලංකා ලිමිටඩ්
සමාගම් අංකය : පී බී 837
ලියාපදිංචි කාර්යාලය : අංක 400, ඩීන්ස් පාර, කොළඹ 10
සමාගමේ නව නාමය : බොන්ටෙරා ලිමිටඩ්

අධ්‍යක්ෂ මණ්ඩලයේ නියමය පරිදි,

හේලීස් ගෲප් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලේකම්වරු.

2017 දෙසැම්බර් මස 27 වැනි දින,
අංක 400, ඩීන්ස් පාර,
කොළඹ 10.

01-187

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ අංක 9 (1) වගන්තිය ප්‍රකාර පහත සඳහන් සමාගම සංස්ථාපනය කර ඇති බැවින් මෙයින් දැනුම් දෙනු ලැබේ.

සමාගමේ නම : ද බියුටි ක්වෙස්ට් (පුද්ගලික) සමාගම
සමාගමේ අංකය : පී වී 125106
ලියාපදිංචි ලිපිනය : අංක 12/2සී
නේවාසික පහසුකම්, අංක 75 ඒ, ගාලි වීදිය, කොළඹ 03.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

කෝපර්රේට් ඩි සොලිෂියෝ (පුද්ගලික) සමාගම,
ලේකම්වරු.

01-190

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ කරනු ලබන දැන්වීමයි.

සමාගමේ නම : රුහුණුපුර රියල් එස්ටේට් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 127558
ලියාපදිංචි ලිපිනය : අංක 11/7, පළමුවන පටුමග, මිනුවන්ගොඩ.

01-195

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ කරනු ලබන දැන්වීමයි.

සමාගමේ නම : සිම්ප්ලි මැනේජ්මන්ට් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 127262
ලියාපදිංචි ලිපිනය : අංක 11/7, පළමුවන පටුමග, මිනුවන්ගොඩ.

අධ්‍යක්ෂවරු.

01-196

## නිවේදනයයි

ඔමේගා ග්ලෝබල් (ප්‍රයිවට්) ලිමිටඩ් 2013 ජූලි මස 9 වැනි දින සංස්ථාපනය කරන ලද බව 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය ප්‍රකාර මෙයින් නිවේදනය කරනු ලැබේ.

සමාගමේ නම : ඔමේගා ග්ලෝබල් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 93468
ලියාපදිංචි කාර්යාලය : අංක 495/5, කොළඹ පාර, මීගමුව, ශ්‍රී ලංකාව.

කෝපරේට් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලේකම්වරු.

01-197

**වගකීමෙන් සීමිත සමාගමක් සංස්ථාගත කිරීම පිළිබඳ ප්‍රසිද්ධ නිවේදනය**

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය ප්‍රකාරව පහත සඳහන් සමාගම සංස්ථාගත කිරීම පිළිබඳ අප විසින් මෙයින් නිවේදනය කරනු ලැබේ.

සමාගමේ නම : ඉයෝන් ටෙක් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 127897
ලියාපදිංචි කළ දිනය : 2017 දෙසැම්බර් මස 8 වැනි දින
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : අංක 10, 5 වන මහල, ගෝතමී පාර, කොළඹ 08.

ඉයෝන් ටෙක් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගම සඳහා සහ වෙනුවෙන්

පී ඩබ්ලිව් කෝපරේට් සෙක්‍රටේරියල් (පීවීටී) එල්ටීඩී,
සමාගම් ලේකම්වරුන්.

2017 දෙසැම්බර් මස 15 වැනි දින.

01-216

---

**ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීම**

රත්මලාන, දෙවන පටුමග, අංක 06 හි පදිංචි සාන්ති ද සොය්සා රාජකරුණා වන මා විසින් කොහුවල, ෆීල්ඩ් අවේනියු, අංක 3/2 හි පදිංචි මාගේ සහෝදරිය වන ලලනි ද සොය්සා රාජකරුණා නමැති අයට 2016.02.03 වැනි දින ප්‍රසිද්ධ නොතාරිස් රසිකා සුබානි ගුණසේකර විසින් සහතික කළ අංක 673 දරන විශේෂ ඇටෝර්නි බලපත්‍රය අවලංගු කළ බව ශ්‍රී ලංකා ජනරජයටත් මහජනතාවටත් මෙයින් දැනුම් දෙනු ලැබේ.

එකී ඇටෝර්නි බලපත්‍රය මගින් මා වෙනුවෙන් කරනු ලබන කිසිම ගනුදෙනුවකට මා වග නොකියන බව ද ප්‍රකාශ කරනු ලැබේ.

සාන්ති ද සොය්සා රාජකරුණා.

01-245

---

**ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීම**

හඹුරුගල, මහවිල, කේලන්තොටුව, කේලන්තොටු කන්ද, අංක 170/ඩී දරන ස්ථානයේ පදිංචි ලසන්ති චාරුකා දේශප්‍රිය (ජා. හැ. අ. 756040090 V) වන මම වර්ෂ 2016.08.10 වැනි දින කන්දෙගොඩ දී අත්සන් තබන ලද ගාල්ල, දකුණු කලාප කාර්යාලයේ රෙජිස්ට්‍රාර් ජෙනරාල් දෙපාර්තමේන්තුවේ ඇටෝර්නි බලපත්‍ර පොතේ 71 කාණ්ඩයේ අංක 30 පත්‍රිකාවේ දිනපොත් අංක 2089 යටතේ 2016.08.15 වැනි දින ලියාපදිංචි කර ඇති ප්‍රසිද්ධ නොතාරිස් එම්. වරුණ චරිත් මිරැන්ඩු මහතා විසින් ලියා සහතික කළ අංක 92 දරන ඇටෝර්නි බලපත්‍රයෙන් හඹුරුගල, මහවිල පදිංචි කලුමුනි මැප්ලින් නොහොත් කලුමුනි රම්‍යවතී යන අය මාගේ නීත්‍යානුකූල ඇටෝර්නි බලකාරිය වශයෙන් පත්කර ඇත. එකී ඇටෝර්නි බලය මෙයින් අවලංගු කරන බවත්, එකී ඇටෝර්නි බලපත්‍රය මගින් කරනු ලබන කිසිදු කාර්යයක් මින්මතු වලංගු නොවන බවත් ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජය සහ මහජනතාව වෙත මෙයින් දැනුම් දෙමි.

එල්. සී. දේශප්‍රිය.

01-234

---

**දැන්වීමයි**

2007 අංක 7 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ පහත සඳහන් සමාගම සංස්ථාපිත කළ බව මෙයින් දන්වමු :-

| *සමාගමේ නම* | *ලියාපදිංචි අංකය* | *ලියාපදිංචි කළ දිනය* | *ලියාපදිංචි කාර්යාලීය ලිපිනය* |
|---|---|---|---|
| රෙම්බ්‍රැන්ඩ් සොලූෂන්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් | පී වී 128092 | 2017.12.15 | අංක 407, පළමු මහල, ගාලු පාර, කොළඹ 3. |

ෆයිනෑන්ෂියල් ඇන්ඩ් බිස්නස් ඇසෝසියේට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
සමාගම් ලේකම්වරු.

01-170

# වෙන්දේසි කිරීම් පිළිබඳ දැන්වීම්

HNB 263 - 17

**හැටන් නැෂනල් බැන්ක් පීඑල්සී - ගාල්ල ශාඛාව**

(කලින් සීමාසහිත හැටන් නැෂනල් බැංකුව ලෙස හඳුන්වනු ලැබූ)

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය ආපසු අයකර ගැනීමේ (විශේෂ විධි විධාන) පනතේ 4 වන වගන්තිය යටතේ පවත්වනු ලබන අගනා දේපළක් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

මාතර ප්‍රසිද්ධ නොතාරිස් ආර්. පී. කේ. රාජපක්ෂ විසින් ලියා සහතික කරන ලද්ද වූ ද, හැටන් නැෂනල් බැන්ක් පී. එල්. සී. නමට ලියන ලද්ද වූ ද, 2016.10.14 වැනි දින සහතික කළ අංක 155 දරන බැඳුම්කරය යටතේ අය විය යුතු මුදල් ගෙවීම ගඟබඩ කංකානම්ගේ ශාන්ත කුමාර ගුණරත්න යන අය ණයකරු වශයෙන් පැහැර හැර ඇති හෙයින්, හැටන් නැෂනල් බැන්ක් පී. එල්. සී. විසින් මා වෙත පවරා ඇති බලතල අනුව අයවිය යුතු ණය මුදල් සියලු ස්ථාපිත ගෙවීම් හා වෙන්දේසිකරුගේ ගාස්තු ඇතුළුව සියලුම මුදල් අයකර ගැනීම පිණිස පහත සඳහන් දේපළ 2018ක් වූ ජනවාරි මස 26 වැනි දින පෙ. ව. 10.30 ට එම දේපළ පිහිටි ස්ථානයේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

**උපලේඛනය**

බස්නාහිර පළාතේ, කළුතර දිස්ත්‍රික්කයේ, නැගෙනහිර පස්දුන් කෝරළේ උතුරු මහා පත්තුවේ පාලින්ද නුවර, ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ සහ ප්‍රාදේශීය සභා සීමාව තුළ මොරපිටිය අංක 836 ඒ ග්‍රාම නිලධාරි වසමේ, මොරපිටිය ගමෙහි පිහිටි නෙළුවන්කන්ද නමැති ඉඩමට බලයලත් මිනින්දෝ එස්. කේ. ජී. ඇලපාත විසින් 2016 මැයි මස 01 වැනි දින පිළියෙල කරන ලද අංක 554 දරන (එෆ්. වී. පී. 115 දරන පිඹුරේ ලොට් 142) පිඹුරෙන් බෙදා වෙන් කරන ලද ඉඩම් ප්‍රමාණයෙන් අක්කර දෙකයි, රූඩ් එකයි, පර්චස් විස්ස (අ. 2, රූ. 1, පර්. 20) ක විශාලත්වයෙන් වූ ඉඩම සමග ගස කොළ, වගාවන් සහ එහි පිහිටි සියලුම දේත් සමග වේ.

යෝජනා සම්මුතිය පිළිබඳ නිවේදනය සඳහා 2017.11.30 වැනි දින රජයේ *ගැසට් පත්‍රය* හා 2017.12.07 දින ලක්බිම, තිනක්කුරල් සහ ඩේලි මිරර් පුවත්පත් ද බලන්න.

*ඉඩමට පිවිසීම.* - ගාල්ලේ සිට කොළඹ පාරේ අළුත්ගම දක්වා කි. මී. 60ක් පමණ ගමන් කොට මතුගම පාරෙන් දකුණට හැරෙන්න. මතුගම නගරය දක්වා කි. මී. 34ක් පමණ ගොස් අගලවත්ත, බඳුරලිය තිරුවානකැටිය පාරට දකුණට හැරෙන්න. ඉන් කි. මී. 23ක් පමණ ගමන් කර අංක 51/4 දරන බෝක්කුව පසුකර යන්න. එවිට දකුණත පැත්තේ, ඇක්සෝ ස්ප්‍රින්, නමැති පානීය ජලය බෝතල් කරන කර්මාන්ත සංකීර්ණය දකුණත පැත්තේ හමුවේ. එහි සීමා තාප්පයේ සවිකල නාම පුවරුව දක්නට ඇත.

*ගෙවීමේ ක්‍රමය.*- වෙන්දේසිය අවසානයේ උපරිම ලංසු තබන්නා විසින් පහත සඳහන් පරිදි මුදල් වෙන්දේසි කරුට ගෙවිය යුතු ය.

1. ගැණුම් මිලෙන් සියයට දහය (10%) ක් ද,
2. ප්‍රාදේශීය සභා බදු සඳහා සියයට එකක් (1%) ක් ද,
3. වෙන්දේසිකරුගේ වෘත්තිමය ගාස්තු,
4. විකුණුම් කොන්දේසි සහතික කිරීමේ කොනාරිස් ගාස්තු රුපියල් දෙදහක් (රු. 2,000) ක් ද,
5. ලිපිකරු සහ සෝෂක ගාස්තු රුපියල් පන්සීය (රු. 500)ක් ද,
6. සියලුම ප්‍රචාරක වියදම් ද වේ.

ගැණුම් මුදලින් ඉතිරි සියයට අනූවක් (90%)ක් වූ මුදල විකිණීමේ දින සිට දින 30ක් ඇතුළත හැටන් නැෂනල් බැන්ක් පී. එල්. සී. වෙත ගෙවිය යුතු ය. දින 30ක් ඇතුළත ඉතිරි මුදල නොගෙවුවහොත් ගෙවා ඇති සියයට දහයක (10%) මුදල අහිමි කිරීමට සහ දේපළ නැවත විකිණීමට බැංකුවට අයිතිය ඇත.

අදළ ඔප්පු හා ලියවිලි පරීක්ෂාව සහ වෙනත් තොරතුරු ජ්‍යෙෂ්ඨ කළමණාකරු, (ණය අධීක්ෂණ සහ අය කිරීම්) හැටන් නැෂනල් බැන්ක් පී. එල්. සී. අංක 479, ටී. බී. ජයා මාවත, කොළඹ 10.

දුරකථන අංක 2661826, 2661835 ගෙන් ලබාගත හැක.

පියරත්න මුතුකුමාරණ,
(මුළ දිවයිනටම සාම විනිසුරු)
උසාවි කොමසාරිස්, තක්සේරුකරු
හා බලයලත් වෙන්දේසිකරු.

අංක 156, 1/13,
උසාවිය පාර,
කොළඹ 12.
දුරකථන අංක : 0777 - 378441/0714 - 424478
0112 - 337707,
ෆැක්ස් අංකය : 0112 509442.

01-172

---

**සෙලාන් බැංකුව පීඑල්සී - මාතලේ ශාඛාව**

1990 අංක 04 දරන බැංකු මගින් ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ අංක 09 වන වගන්තිය යටතේ අගනා දේපළක් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

මාතලේ පදිංචි අබේසිංහ ගාමිණි පොද්දල්ගොඩ යන අය බන්ධනදායි වශයෙන් ප්‍රසිද්ධ නොතාරිස් ඩබ්ලිව්. පී. අයි. ගාමිණි විසින් ලියා සහතික කරන ලද 2001 සැප්තැම්බර් මස 21 දිනැති අංක 528 සහ

ප්‍රසිද්ධ නොතාරිස් ජානකී කරලියද්ද නවරත්න විසින් සියල්ල ම සහතික කරන ලද 2005 දෙසැම්බර් මස 28 දිනැති අංක 213, 2008 මාර්තු මස 5 දිනැති අංක 563, 2010 නොවැම්බර් මස 29 දිනැති අංක 784, 2005 දෙසැම්බර් මස 28 දිනැති අංක 216 2014 ජුලි 14 දිනැති අංක 1538, 2005 දෙසැම්බර් මස 28 දිනැති අංක 210 සහ ප්‍රසිද්ධ නොතාරිස් අයි. එච්. බී. ඩී. විජයකොන් විසින් දෙකම සහතික කරන ලද 2003 මාර්තු 26 දිනැති අංක 3796, 2004 සැප්තැම්බර් මස 1 දිනැති අංක 3905 සහ ප්‍රසිද්ධ නොතාරිස් ජානකි කරලියද්ද නවරත්න විසින් සියල්ලම සහතික කරන ලද 2005 දෙසැම්බර් මස 28 දිනැති අංක 218, 2008 මාර්තු 5 දිනැති අංක 564, 2010 නොවැම්බර් මස 29 දිනැති අංක 785, 2005 දෙසැම්බර් මස 28 දිනැති අංක 214 දරන බැඳුම්කර මගින් සෙලාන් බැංකුව පීඑල්සී වෙත සුරක්ෂිත කර ඇති පහත උපලේඛනයන්හි සඳහන් දේපළ සහ පරිශ්‍රයන් වර්ෂ 2018 ක් වූ ජනවාරි මස 23 වැනි දින දේපළ පිහිටි ස්ථානයන්හි පහත සඳහන් කර ඇති වේලාවන්හි දී සෙලාන් බැංකුව පී එල් සී විසින් මා හට පවරණ ලද බලය ප්‍රකාරව මා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ දී විකුණනු ලැබේ.

*උපලේඛනය 1* .- වෙන්දේසිය පැවැත්වීමට නියමිත වේලාව පෙ. ව. 9.30

සබරගමුව පළාතේ, කෑගල්ල දිස්ත්‍රික්කයේ, මාවත පත්තුවේ, පරණකුරු කෝරළේ මීදෙනිය පිහිටි බලයලත් මිනින්දෝරු ජේ. එම්. ජයසේකර විසින් සාදන ලද 1996.02.19 දිනැති අංක 2112 සැලැස්මේ සඳහන් වරකාපුස්හේන හෙවත් කඩුල්ලගාවා හේන නමැති ඉඩමේ ලොට් 2 ලකුණු කළ බෙද වෙන් කරන ලද ඉඩම් කැබැල්ල ප්‍රමාණයෙන් අක්කර එකයි, රූඩ් එකයි, පර්චස් විසි අටක් (අ. 1, රූ. 1, පර්. 28) ක් වූ විශාල ඉඩම, ගොඩනැගිල්ල සහ එහි පිහිටි වෙනත් සියලු දේ ද සමග වේ.

*දේපළට පිවිසීම.* - නුවර කොළඹ පාරේ කෑගල්ල නගරයේ සිට බුලත්කොහුපිටිය පාරෙන් කි. මී. 6.5 ගියවිට හෙට්ටිමුල්ල කඩවීදිය හමුවේ. එතැන් සිට වමට ඇති හපුවිට පාරෙන් කි. මී. 0.8 ගියවිට දකුණු දෙසට වන්නට මෙම දේපළ පිහිටා ඇත.

*උපලේඛනය 2* .- වෙන්දේසිය පැවැත්වීමට නියමිත වේලාව ප. ව. 1.00

මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ දකුණු මැදසිය පත්තුවේ උකුවෙල ගමේ පිහිටි බලයලත් මිනින්දෝරු එස්. රංචාගොඩ විසින් සාදන ලද 1988 ජුනි මස 25 දිනැති අංක 2093 ඒ සැලැස්මේ නිරූපනය වන උකුවෙල එස්ටේට් හි කොටසක් ලෙස හඳුන්වන සහ නම් කරනු ලබන ඉඩම් කොටසේ ලොට් 1 ලකුණු කළ බෙද වෙන් කරන ලද ඉඩම් කැබැල්ල ප්‍රමාණයෙන් පර්චස් දහසයයි දශම පහක් (අ. 0, රූ. 0, පර්. 16.5) ක් විශාල බිම ගස්, වගා සහ පවත්නා මාර්ග අයිතිය සහ එකී සැලැස්මේ පෙන්නුම් කරන පරිදි ලොට් 37 ලකුණු කළ මාර්ගය තුළ උඩින් සහ දිගේ ප්‍රවේශය සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම වේ.

එකී ලොට් 1 ලකුණු කළ ඉඩම් කොටස දැන් නැවත මැන පහත සඳහන් පරිදි විස්තර කර ඇත.

මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ දකුණු මැදසිය පත්තුවේ උකුවෙල ගමේ පිහිටි බලයලත් මිනින්දෝරු ඊ. වී. සිරිසුමන විසින් සාදන ලද 2005 දෙසැම්බර් මස 18 දිනැති අංක 6535 සැලැස්මේ නිරූපනය වන උකුවෙල එස්ටේට් හි කොටසක් ලෙස හඳුන්වන සහ නම් කරනු ලබන ඉඩම් කොටසේ ලොට් ඒ ලකුණු කළ බෙද වෙන් කරන ලද ඉඩම් කැබැල්ල ප්‍රමාණයෙන් පර්චස් දහසයයි දශම පහක් (අ. 0, රූ. 0, පර්. 16.5)ක් විශාල බිම ගස් වගා සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම වේ.

*දේපළට පිවිසීම.* - මාතලේ නගරයේ සිට උකුවෙල පාර ඔස්සේ කි. මී. 5 ගිය විට දකුණු දෙසට වන්නට 5 වන පටුමග හමුවේ. එම පටුමගේ මීටර් 100 ගිය විට අවසානයට වන්නට මෙම දේපළ පිහිටා ඇත.

*උපලේඛනය 3* .- වෙන්දේසිය පැවැත්වීමට නියමිත වේලාව ප. ව. 1.30

මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ දකුණු මැදසිය පත්තුවේ උකුවෙල ගමේ පිහිටි බලයලත් මිනින්දෝරු ඒ. පී. ඩබ්ලිව්. ගිරාගම විසින් සාදන ලද 1991 අගෝස්තු මස 04 වැනි දිනැති අංක 2341 සැලැස්මේ නිරූපනය වන මඩමේ වත්ත සහ වැලිගොඩේවත්ත ලෙස හඳුන්වන සහ නම් කරනු ලබන ඉඩම් කොටසේ ලොට් 4 ලකුණු කළ බෙද වෙන් කරන ලද ඉඩම් කැබැල්ල ප්‍රමාණයෙන් පර්චස් විස්සක් (අ. 0, රූ. 0, පර්. 20) ක් විශාල බිම ගස් වගා සහ පවත්නා මාර්ග අයිතිය සහ එකී සැලැස්මෙ පෙන්නුම් කරන ලබන මාර්ගය තුළ උඩින් සහ දිගේ ප්‍රවේශය සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම වේ.

එකී ලොට් 4 ලකුණු කළ ඉඩම් කොටස දැන් නැවත මැන පහත සඳහන් පරිදි විස්තර කර ඇත.

මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ දකුණු මැදසිය පත්තුවේ උකුවෙල පිහිටි බලයලත් මිනින්දෝරු ඊ. වී. සිරිසුමන විසින් සාදන ලද 2005 දෙසැම්බර් මස 18 දිනැති අංක 6536 සැලැස්මේ නිරූපනය වන මඩමේවත්ත සහ වැලිගොඩේවත්ත ලෙස හඳුන්වන සහ නම් කරනු ලබන ඉඩම් කොටසේ ලොට් 1 ලකුණු කළ බෙද වෙන් කරන ලද ඉඩම් කැබැල්ල ප්‍රමාණයෙන් පර්චස් විස්සක් (අ. 0, රූ. 0, පර්. 20) ක් විශාල බිම ගස් වගා සහ මාර්ග අයිතිය සහ එකී සැලැස්මේ නිරූපනය වන අඩි 10ක් පළල පාර තුළ උඩින් සහ දිගේ ප්‍රවේශ මාර්ගය සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම වේ.

*දේපළට පිවිසීම.* - මාතලේ නගරයේ සිට උකුවෙල පාර ඔස්සේ තවලංකොය හමුද කඳවුර දක්වා ගොස් දකුණු පසින් වන්නට ඇති එගොඩවත්ත පාරෙන් මීටර් 200 ගිය විට සමගි මාවත පසුකර මීටර් 10 ගොස් දකුණු දෙසට වන්නට බොරලු පාරක් හමුවේ. එම පාර ඔස්සේ මීටර් 100 යන විට T හන්දියෙන් හැරී වමට මීටර් 30 ගිය විට හැරවුම් කවය අසල මෙම දේපළ පිහිටා ඇත.

*උපලේඛනය* 4 .- වෙන්දේසිය පැවැත්වීමට නියමිත වේලාව පෙ. ව. 2.00

මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ දකුණු මැදසිය පත්තුවේ උකුවෙල පිහිටි බලයලත් මිනින්දෝරු ඒ. පී. ඩබ්ලිව්. ගිරාගම විසින් සාදන ලද 1983.10.05 නිවැරදි 1983.10.03 වැනි දිනැති අංක 125 සැලැස්මේ නිරූපනය වන උකුවෙල එස්ටේට් ලෙස හඳුන්වන සහ නම් කරනු ලබන ඉඩම් කොටසේ ලොට් ඒ ලෙස නිරූපනය වන බෙද වෙන් කරන ලද ඉඩම් කැබැල්ල ප්‍රමාණයෙන් පර්චස් විසි තුනයි දශම දෙකක් (අ. 0, රූ. 0, පර්. 20.2) ක් විශාල බිම ගස් වගා සහ පිහිටි වෙනත් සියලු දේ සමග වේ.

මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ දකුණු මැදසිය පත්තුවේ උකුවෙල පිහිටි බලයලත් මිනින්දෝරු ඒ. පී. ඩබ්ලිව්. ගිරාගම විසින් සාදන ලද 1985.04.18 වැනි දිනැති අංක 125 ඒ සැලැස්මේ සඳහන් වන උකුවෙල එස්ටේට් ලෙස හඳුන්වන සහ නම් කරනු ලබන ඉඩමේ ප්‍රමාණයෙන් පර්චස් දෙළහක් (අ. 0, රූ. 0, පර්. 12) ක් විශාල බිම ගස් වගා සහ පිහිටි වෙනත් සියලු දේ සමග වේ.

පෙර කී ඉඩම් කොටස් දැන් නැවත මැන සහ එකතු කර මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ දකුණු මැදසිය පත්තුවේ උකුවෙල පිහිටි බලයලත් මිනින්දෝරු යූ. එච්. බී. කේ. එම්. ටී. අංගම්මන විසින් සාදන ලද 2003.03.05 වැනි දිනැති අංක 1063 දරණ සැලැස්මේ සඳහන් උකුවෙල එස්ටේට් ලෙස හඳුන්වන සහ නම් කරනු ලබන ඉඩමෙ ප්‍රමාණයෙන් පර්චස් තිස් පහයි දශම දෙකයි බිංදුවක් (අ. 0, රූ. 0, පර්. 35.20) ක් විශාල බිම ගොඩනැගිලි, වගා, සහ පිහිටි වෙනත් සියලු දේ සමග වේ.

*දේපළට පිවිසීම.*- උකුවෙල හන්දියෙන් දුම්රිය හරස් මාර්ගයෙන් මාතලේ පාර ඔස්සේ මීටර් 300 ගිය විට වම් පසට ඇති පුබුදු මාවතෙන් මීටර් 50 ගොස් මහජන ක්‍රීඩාංගනයට පෙර දකුණට හැරී එගොඩවත්ත පාරෙන් මීටර් 75ක් ගියවිට දකුණු දෙසට වන්නට මෙම දේපළ පිහිටා ඇත.

*උපලේඛනය 5.*- වෙන්දේසිය පැවැත්වීමට නියමිත වේලාව ප. ව. 2.30.

මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ මාතලේ දකුණු මැදසිය පත්තුවේ උකුවෙල ගමේ පිහිටි බලයලත් මිනින්දෝරු එස්. රංචාගොඩ විසින් සාදන ලද 1988 ජුනි මස 25 වැනි දිනැති අංක 2093 ඒ සැලැස්මේ නිරූපනය වන උකුවෙල එස්ටේට් හි කොටසක් ලෙස හඳුන්වන සහ නම් කරනු ලබන ඉඩම් කොටසේ ලොට් 14 ලකුණු කළ බෙද වෙන් කනර ලද ඉඩම් කොටස දැන් නැවත මැන පහත සඳහන් පරිදි විස්තර කර ඇත.

මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ දකුණු මැදසිය පත්තුවේ උකුවෙල පිහිටි බලයලත් මිනින්දෝරු ඊ. වී. සිරිසුමන විසින් සාදන ලද 2005 දෙසැම්බර් මස 18 දිනැති අංක 6538 සැලැස්මේ නිරූපනය වන උකුවෙල එස්ටේට් හි කොටසක් ලෙස හඳුන්වන සහ නම් කරනු ලබන ඉඩම් කොටසේ ලොට් 1 ලකුණු කළ බෙද වෙන් කරන ලද ඉඩම් කැබැල්ල ප්‍රමාණයෙන් පර්චස් පහළොවක් (අ. 0, රූ. 0, පර්. 15) ක් විශාල බිම ගස් වගා සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග වේ.

*දේපළට පිවිසීම.* - උකුවෙල හන්දියෙන් දුම්රිය හරස් මාර්ගයෙන් මාතලේ පාර ඔස්සේ මීටර් 500 ගිය විට වම් පසට ඇති ගුණසේන පෙදෙසේ 5 වන පටුමගෙන් මීටර් 150 ගොස් මහජන ක්‍රීඩාංගනයට පසු වමට හැරී මීටර් 75 ගිය විට වම් දෙසට වන්නට මෙම දේපළ පිහිටා ඇත. බුද්ධික කන්ස්ට්‍රක්ෂන් කම්පැනි හි ගබඩා සංකීර්ණය ඉදිරිපිට.

*යෝජනා සම්මුති දැන්වීම.* - 2016.10.14 දිනැති රජයේ ගැසට් පත්‍රයේ ද, 2016.10.20 දිනැති ඩේලිමිරර්, ලංකාදීප සහ 2016.10.10 දිනැති තිනක්කුරල් පුවත්පත් හි පළ වී ඇත.

*ගෙවීමේ ක්‍රමය.* - වෙන්දේසිය අවසානයේ දී සාර්ථක ගැණුම්කරු විසින් පහත සඳහන් පරිදි මුදලින් ගෙවීම් කළ යුතු ය.

1. ගැණුම් මිලෙන් 10%ක්,
2. පළාත් අධිකාරියේ බදු සඳහා 1%ක්,
3. වෙන්දේසිකරුගේ කොමිස් මුදල විකුණුම් මිලෙන් 2.5%,
4. විකුණුම් කොන්දේසි පත්‍රය සඳහා නොතාරිස් ගාස්තුව රු. 2,000,
5. ලිපිකරු සහ සෝෂකගේ ගාස්තු රු. 500,
6. සම්පූර්ණ ප්‍රචාරණ පිරිවැය.

ගැණුම් මිලෙන් 90% ක් වූ ඉතිරිය ද, ශ්‍රී ලංකා ආණ්ඩුව විසින් හෝ වෙනත් අධිකාරියක් විසින් හෝ පනවනු ලබන වෙනත් ව්‍යවස්ථාපිත බදු හෝ ගාස්තු වෙතොත් ඒවා ද සමග වෙන්දේසි දින සිට දින 30ක් ඇතුළත සෙලාන් බැංකුව පීඑල්සී වෙත ගෙවිය යුතු ය. ඉහත සඳහන් පරිදි ඉතිරි මුදල් නියමිත් කාලසීමාව ඇතුළත නොගෙවුවහොත් දැනටමත් ගෙවා ඇති මුදල් ආපසු නොගෙවීමට සහ නැවත එම දේපළ විකිණීමට බැංකුවට අයිතිය ඇත.

හිමිකම් ඔප්පු පරීක්ෂා කිරීම සහ වෙනත් වැඩිදුර විස්තර සඳහා පහත සඳහන් අයගෙන් විමසන්න.

සහකාර සාමාන්‍යාධිකාරි නීති, සෙලාන් බැංකුව පීඑල්සී, අංක 90, ගාලු පාර, කොළඹ 03.

දුරකථන අංක : 011 2456485, 011- 2456479.

චන්දිමා ප්‍රියදර්ශණී ගමගේ,
බලයලත් වෙන්දේසිකරු, තක්සේරුකරු
උසාවි කොමසාරිස්.

අංක අයි 9, හයිලෙවල් පාර,
සර්වෝදය මාවත, පනාගොඩ, හෝමාගම,
දුරකථන අංක : 071 4318252 , 011- 2173282.

01-128

**සම්පත් බැංකුව පීඑල්සී**
(සීමාසහිත සම්පත් බැංකුව නමින් කලින් හැඳින්වූ)

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 09 වැනි වගන්තිය යටතේ කරනු ලබන විකුණුම් නිවේදනය

දිමුතු හොලිඩේ රිසෝට්.
ගිණුම් අංක : 0183 1000 0996.

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 09 වැනි වගන්තිය යටතේ ලැබී ඇති බලතල ප්‍රකාර 2017.09.28 වැනි දින සම්පත් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගන්නා ලද යෝජනා සම්මුතියට අනුව රුපියල් තුන් කෝටි තිස් එක් ලක්ෂ අනූහය දහස් එකසිය විසි හතරයි ශත හැත්තෑ හයක (රු. 3,31,96,124.76) මුදලක් 2017 සැප්තැම්බර් මස 09 වැනි දින සිට අයවිය යුතු මුළු මුදල පියවනු ලබන දිනය තෙක්, රුපියල් දෙකෝටි හාර දහස් නමසිය හැත්තෑ හයයි ශත දහ තුනක (ැ. 2,00,04,976.13) මුදලක් සඳහා වාර්ෂිකව at the rate of Average Weighted Prime Lending Rate + Four decimal Five per centum (4.5%) per annum (floor rate of 16.5 % per annum) තවත් රුපියල් හැත්තෑ නම ලක්ෂ තිස් හත් දහස් නමසිය පනහයි ශත විසි එකක (රු. 79,37,950.21) මුදලක් සඳහා වාර්ෂිකව at the rate of Average Weighted Prime Lending Rate + Four decimal Five per centum (4.5%) per annum (floor rate of 16.5 % per annum) හා තවත් රුපියල් තිස් දෙලක්ෂ හැත්තෑ අට දහස් නමසිය දහ නමයයි ශත දහ හතක (රු. 32,78,919.17) මුදලක් සඳහා වාර්ෂිකව at the rate of Average Weighted Prime Lending Rate + Four decimal Five per centum (4.5%) per annum (floor rate of 16.5 % per annum) බැගින් වූ පොළිය ද, දැන්වීම් ගාස්තු ද, ප්‍රචාරණ වියදම් ද, දරන්නට සිදුවූ ගාස්තු ද, වෙනත් තදනන්තරව දරන්නට සිදු වූ යම් මුදලක් වෙතොත් ඒවා අඩු කොට අයකර ගැනීම සඳහා මෙහි උපලේඛනයේ සඳහන් දේපළ සහ පරිශ්‍රයන් 2017.11.24 දින රජයේ *ගැසට් පත්‍රයේ* 2017.11.13 වැනි දින ''දිවයින'' සහ ''තිනකුරල්'' සහ ''අයිලන්ඩ්'' දිනපතා ප්‍රවෘත්ති පත්‍රවල පළකොට ඇති පරිදි 2018.01.30 වැනි දින ප. ව. 1.30 ට පිහිටි ස්ථානයේ දී මහනුවර බලයලත් වෙන්දේසිකරුවන් වන අයි. ඩබ්ලිව්. ජයසූරිය යන අය විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලබන බව මෙයින් දැනුම් දෙනු ලැබේ.

**උපලේඛනය**

වයඹ පළාතේ, කුරුණෑගල දිස්ත්‍රික්කයේ, බලදොර කෝරළයේ සහ වන්නි හත්පත්තුවේ, වඩා නිවැරදිව දේවමැදි හත්පත්තුවේ කොබෙයිගනේ ප්‍රාදේශීය සභා සීමාවන් තුළ සහ මහ ලේකම් කාර්යාල කොට්ඨාසයේ සහ කොබෙයිගනේ - අංක 1301 දරන ග්‍රාම නිලධාරී කොට්ඨාසය තුළ ඉහළ කොබෙයිගනේ පිහිටි "කොබෙයිගනේ එස්ටේට් ගෲප්" යැයි කියනු ලබන ඉඩමට බලයලත් මානක තැන පී. ඒ. එන්. ගුණසිරි යන අය විසින් සාදන ලද 2013 සැප්තැම්බර් මස 23 වැනි දතම හා අංක 7826 A දරන පිඹුරේ නිරූපිත සීමා නීර්ණය කොට බෙදවෙන්කොට ලොට් 1 වශයෙන් ලකුණුකොට ඇති ඉඩම් කොටසට මායිම්, උතුරට : රජයේ ඉඩම, නැගෙනහිරට : එකී පිඹුරේ ලොට් 2, දකුණට : කඩිගාව සිට කොබෙයිගනේ දක්වා ප්‍රධාන පාර සහ බස්නාහිරට : පාර යන මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් අක්කර අටක් (අ. 8, - රූ. 0, පර්. 0) විශාල ඉඩම් කොටස සමග පස, ගහකොළ, වගාවන් සහ එහි පිහිටි සෑම සියලු දේ සමග එකී අංක 7826 A දරන පිඹුරට අනුව වෙළුම/පත්‍ිරුව M 08/109 යටතේ නිකවැරටිය ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ ලියාපදිංචි කොට ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණපරිදි,

සමාගම් ලේකම්.

01-203 /1

---

**සම්පත් බැංකුව පීඑල්සී**
(සීමාසහිත සම්පත් බැංකුව නමින් කලින් හැඳින්වූ)

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 09 වැනි වගන්තිය යටතේ කරනු ලබන විකුණුම් නිවේදනය

ශිරෝණි කේටර්ස් ඇන්ඩ් බේකර්ස් කම්පැණි (ප්‍රයිවට්) ලිමිටඩ්.
ගිණුම් අංක : 0024 1000 7757.

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 09 වන වගන්තිය යටතේ ලැබී ඇති බලතල ප්‍රකාර 2017.09.28 වැනි දින සම්පත් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගන්නා ලද යෝජනා සම්මුතියට අනුව රුපියල් විසි කෝටි තිස් හතර ලක්ෂ හත් දහස් දෙසිය පහයි ශත හතලිස් හතක (රු. 20,34,07,205.47) මුදලක් 2017 සැප්තැම්බර් මස 09 වැනි දින සිට අයවිය යුතු මුළු මුදල පියවනු ලබන දිනය තෙක් රුපියල් දහනම කෝටි විසි පන් ලක්ෂයක (රු. 19,25,00,000) මුදලක් සඳහා වාර්ෂිකව at the rate of Average Weigh Prime Lending Rate + Four per centem (4%) per annum (floor rate of 16%) බැගින් වූ පොළිය ද, දැන්වීම් ගාස්තු ද, ප්‍රචාරණ වියදම් ද, දරන්නට සිදු වූ ගාස්තු ද, වෙනත් තදනන්තරව ලැබී ඇති යම් මුදලක් (වෙතොත්) ඒවා අඩු කොට අයකර ගැනීම සඳහා, මෙහි උපලේඛනයේ සඳහන් දේපළ සහ පරිශ්‍රයන් 2017.11.24 දින රජයේ *ගැසට් පත්‍රයේ* 2017.11.13 වැනි දින දිවයින සහ තිනකුරල් සහ අයිලන්ඩ් දිනපතා ප්‍රවෘත්ති පත්‍රවල පළකොට ඇති පරිදි

2018.01.30 වැනි දින පෙ. ව. 10.30 ට පිහිටි ස්ථානයේ දී මහනුවර බලයලත් වෙන්දේසිකරුවන් වන අයි. ඩබ්ලිව්. ජයසූරිය යන අය විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලබන බව මෙයින් දැනුම් දෙනු ලැබේ.

### උපලේඛනය

වයඹ පළාතේ, පුත්තලම දිස්ත්‍රික්කයේ, දකුණු පිටිගල් කෝරළයේ, කම්මල් පත්තුවේ, වෙන්නප්පුව ප්‍රාදේශීය සභා සීමාවන් තුළ සහ ප්‍රාදේශීය මහ ලේකම් කාර්යාල කොට්ඨාසයේ බටහිර වෙන්නප්පුව අංක 491 C දරන ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ වෙන්නප්පුව ග්‍රාමයේ පිහිටි "දෙල්ගහවත්ත, කොස්ගහවත්ත නොහොත් මාදංගහවත්ත, මල්ගොරකගහකුඹුර, පණුකඳගහකුඹුර සහ වෙනත් ඒකාබද්ධ බිම්කට්ටි" යැයි කියනු ලබන ඉඩමට බලයලත් මානක තැන ඩබ්ලිව්. එස්. සුමිත් ඒ. ප්‍රනාන්දු යන අය විසින් සාදන ලද 2004 දෙසැම්බර් මස 17 දාතම හා අංක 1215 දරන පිඹුරේ නිරූපිත සීමා නිර්ණය කොට බෙදවෙන්කොට ලොට් 1 වශයෙන් ලකුණුකොට ඇති ඉඩම් කොටසට මායිම්, උතුරුට : කේ. එම්. ඒ. බී. තමෙල් යන අය විසින් හිමිකම් කියනු ලබන ඉඩම, එම්. ක්‍රිස්ටි සහ වෙනත් අය විසින් හිමිකම් කියනු ලබන ඉඩම සහ එම්. ක්‍රිස්ටි සහ වෙනත් අය විසින් හිමිකම් කියනු ලබන කුඹුර, නැගෙනහිරට : එම්. ක්‍රිස්ටි සහ වෙනත් අය විසින් හිමිකම් කියනු ලබන කුඹුර සහ ගිං ඔය සඳහා වෙන්කිරීම, දකුණට : ඩබ්ලිව්. පී. පී. නිශාන්ත තමෙල් යන අය විසින් හිමිකම් කියනු ලබන ඉඩම, යූ. ඉසීස් ප්‍රනාන්දු යන අය විසින් හිමිකම් කියනු ලබන ඉඩම සහ බලයලත් මානක තැන වයි. එම්. රංජිත් යාපා යන අය විසින් සාදන ලද අංක 8535 දරන පිඹුරේ ලොට් 1 සහ බස්නාහිරට : කේ. එම්. ඒ. බී. තමෙල් යන අය විසින් හිමිකම් කියනු ලබන ඉඩම, කේ. එම්. කුයින්ටස් තමෙල් යන අයගේ උරුමක්කාරයින් විසින් හිමිකම් කියනු ලබන ඉඩම සහ බලයලත් මානක තැන වයි. එම්. රංජිත් යාපා යන අය විසින් සාදන ලද අංක 5837 දරන පිඹුරේ ලොට් 1 සහ ඩබ්ලිව්. පී. පී. නිශාන්ත තමෙල් යන අය විසින් හිමිකම් කියනු ලබන ඉඩම යන මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් අක්කර හයයි පර්චස් දහ අටක් (අ. 6, රූ. 0, පර්. 18) විශාල ඉඩම් කොටස සමග පස, ගහකොළ, වගාවන් සහ එහි පිහිටි සෑම සියලු දේ සමග එකී අංක 1215 දරන පිඹුරට අනුව වෙළුම/පත්‍රිරුව G 151/219 යටතේ මාරවිල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ ලියාපදිංචි කොට ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

සමාගම් ලේකම්.

01-203/2

### කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලොන් පී. එල්. සී. - මතුගම ශාඛාව

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. (ලියාපදිංචි අංක පී කිව්. 116) මගින් මා වෙත පවරා ඇති බලය ප්‍රකාර ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

*තුන්වන උපලේඛනය*

1. අනුග්‍රහලත් මිනින්දෝරු ඒ. ඉලන්කෝන් විසින් 2007.08.19 දින සාදන ලද ලද පිඹුරු අංක 226 හි දක්වෙන බස්නාහිර පළාතේ, කළුතර දිස්ත්‍රික්කයේ, නැගෙනහිර පස්දුන් කෝරළේ, දකුණු මහ පත්තුවේ කෙවිටියාගල පිහිටි පන්නරගොඩහේන සහ පල්ලේවිලදෙනිය කියන ඉඩමේ ගොඩනැගිලි, වෘක්ෂයන්, වගාවන් පස්බිම් සහ එහි පවත්නා සියලු දේත් සමග බෙද වෙන් කර ලොට් A ලෙස සලකුණු කර ඇති බිම් කොටස.

ප්‍රමාණය (අක්. 8, රූඩ් 0, පර්. 0) හෝ හෙක්ටයාර් 3.2374

2. අනුග්‍රහලත් මිනින්දෝරු ඒ. ඉලන්කෝන් විසින් 2007.08.19 දින සාදන ලද ලද පිඹුරු අංක 226 හි දක්වෙන බස්නාහිර පළාතේ, කළුතර දිස්ත්‍රික්කයේ, නැගෙනහිර පස්දුන් කෝරළේ, දකුණු මහ පත්තුවේ කෙවිටියාගල පිහිටි පන්නරගොඩහේන සහ පල්ලේවිලදෙනිය කියන ඉඩමේ ගොඩනැගිලි, වෘක්ෂයන්, වගාවන් පස්බිම් සහ එහි පවත්නා සියලු දේත් සමග බෙද වෙන් කර ලොට් B ලෙස සලකුණු කර ඇති බිම් කොටස.

ප්‍රමාණය (අක්. 1, රූඩ් 2, පර්. 31.1) හෝ හෙක්ටයාර් 0.6858

3. අනුග්‍රහලත් මිනින්දෝරු ඒ. ඉලන්කෝන් විසින් 2007.08.19 දින සාදන ලද අංක 226 දරන පිඹුරේ හි දක්වෙන බස්නාහිර පළාතේ, කළුතර දිස්ත්‍රික්කයේ, නැගෙනහිර පස්දුන් කෝරළේ, දකුණු මහ පත්තුවේ කෙවිටියාගල පිහිටි පන්නරගොඩහේන සහ පල්ලේවිලදෙනිය කියන ඉඩමේ ගොඩනැගිලි, වෘක්ෂයන්, වගාවන් පස්බිම් සහ එහි පවත්නා සියලු දේත් සමග බෙද වෙන් කර ලොට් D ලෙස සලකුණු කර ඇති බිම් කොටස.

ප්‍රමාණය (අක්. 0, රූඩ් 1, පර්. 0) හෝ හෙක්ටයාර් 0.1011

පහත සඳහන් පරිදි මාර්ග වෙන්කිරීම් තුලින් උඩින් සහ ඔස්සේ යාමේ අයිතිය ද සමග වේ.

බස්නාහිර පළාතේ, කළුතර දිස්ත්‍රික්කයේ, නැගෙනහිර පස්දුන් කෝරළේ දකුණු මහපත්තුවේ කෙවිටියාගල පිහිටි පන්නරගොඩහේන සහ පල්ලේවිලදෙණිය කියන ඉඩමෙන් බෙද වෙන් කරන ලද ලොට් C (අඩි 16ක් පළල පාරක් සඳහා වෙන්කර ඇත).

ප්‍රමාණය : (අක්. 0, රූඩ් 1, පර්. 27.9) හෝ හෙක්ටයාර් 0.1717
ලොට් 14 ඒ (පාරක් සඳහා වෙන්කර ඇත)
ප්‍රමාණය : අක්. 0, රූඩ් 0, පර්. 11

*හතරවන උපලේඛනය*

මාදිලිය : නන්ටා 7144T පෙළ තේ පාට තෝරන්නා

විස්තරය : බකට් එලවේට(ර්) ෆීඩ් හොප(ර්) සහ කන්වේය(ර්) සහ නියමිත අමතර කොටස් ද සමගය.

තුන්වන උපලේඛනයේ සඳහන් දේපළ ගිහාන් නිරෝෂන් ජයවර්ධන සහ දොන් උපසේන රූපසිංහ ජයවර්ධන ණයකරුවන් හැටියට ද, ''සම්රෝ ටී ෆැක්ටරි'' යන නාමයෙන් සහ විලාශයෙන් තනි අයිතිකාර ව්‍යාපාරයක් පවත්වාගෙන යන ගිහාන් නිරෝෂන් ජයවර්ධන ණයකරු හැටියට ද, කොමර්ෂල් බෑන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. ට උකස් කර ඇත.

හතරවන උපලේඛනයේ සඳහන් දේපළ ගිහාන් නිරෝෂන් ජයවර්ධන සහ දොන් උපසේන රූපසිංහ ජයවර්ධන ණයකරුවන් හැටියට කොමර්ෂල් බෑන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. ට උකස්කර ඇත.

3 වන උපලේඛනයෙහි සඳහන් 1, 2 සහ 3 දේපළ වර්ෂ 2018 ක් වූ ජනවාරි මස 29 වැනි දින පෙ. ව. 11.30 ට

4 වන උපලේඛනයෙහි සඳහන් යන්ත්‍රෝපකරණ වර්ෂ 2018ක් වූ ජනවාරි මස 29 වැනි දින මධ්‍යාහ්න 12.00 ට

එම දේපළ පිහිටි ස්ථානය වන කළුතර දිස්ත්‍රික්කයේ කෙවිටියාගල පල්ලේවිලදෙණිය යන ස්ථානයේ දී මා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

යෝජනා සම්මුතිය සඳහා 2010.07.02 වැනි දින රජයේ *ගැසට් පත්‍රය* සහ ලක්බිම පත්‍රය ද, 2010.11.22 දින ලක්බිම ද අයිලන්ඩ් හා වීරකේසරී පුවත්පත් ද බලන්න. විකිණීම පිළිබඳ දැන්වීම සඳහා 2018.01.05 වැනි දින රජයේ *ගැසට් පත්‍රය* ද, සහ 2018.01.08 වැනි දින ලක්බිම, ද අයිලන්ඩ් සහ වීරකේසරි පුවත්පත් ද බලන්න.

3 වන උපලේඛනයේ 1, 2, 3 සහ 4 වන උපලේඛනයේ *දේපළවලට පිවිසීම.* -

මතුගම පැලවත්ත පාරේ ගියවිට පොල්ගම්පල කඩවීදිය හමුවේ. එතැනින් දකුණට හැරෙන විට හමුවන බොරලු සහිත පාරේ මීටර් 250ක් පමණ ගිය විට වම්පසින් හමුවන ආරක්ෂක කුටිය ළඟින් මීටර් 200ක් පමණ පහලට යන විට අදාළ දේපළ හමුවේ.

*ගෙවීමේ ක්‍රමය.* - විකිණීම ස්ථිර කළ වහාම ගැණුම්කරු විසින් පහත සඳහන් ගෙවීම් වෙන්දේසිකරු වෙත මුදලින් ගෙවිය යුතු ය.

1. ගැනුම් මිලෙන් 10%ක් ද, 2. පළාත් සභා අයබදු සඳහා සියයට එකයි (1%), 3. වෙන්දේසිකරුගේ කොමිස් මුදල් විකුණුම් මිලෙන් සියයට දෙකයි දශම පහයි (2.5%), 4. නොතාරිස් ගාස්තුව රු. 2,000, (05) ලිපිකරු හා සෝෂක වේතනය රු. 500, (06) වෙන්දේසිය සඳහා වැය කරන ලද සියලුම ප්‍රචාරක වියදම්, (07) ගැණුම්කරු විසින් අකාලිත වටිනාකම් බද්ද (VAT) ගෙවිය යුතු ය. (08) ගැණුම් මිලෙන් ඉතිරි සියයට අනුව (90%) විකිණීමේ දි සිට දින 30ක් තුළ දී කොමර්ෂල් බෑන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. හි ප්‍රධාන කාර්යාලයේ හෝ මතුගම ශාඛාවේ තැන්පත් කළ යුතු ය.

හිමිකම් ඔප්පු පරීක්ෂා කිරීම සහ වැඩි විස්තර සඳහා පහත සඳහන් අයගෙන් විමසන්න :-

එල්. බී. සේනානායක,
සාම විනිසුරු බලයලත් ජ්‍යෙෂ්ඨ වෙන්දේසිකරු,
තක්සේරුකරු උසාවි කොමසාරිස්,

අංක 200, 2 වන මහල උසාවි පාර, කොළඹ 12
දුරකථන/ෆැක්ස් අංකය 011- 2445393
ඊමේල් : senasevice@sltnet.lk

කළමණාකරු,
කොමර්ෂල් බෑන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී.
අංක 99, කළුතර පාර,
මතුගම.
දුරකථන අංක 034 - 2249470 - 2
ෆැක්ස් අංකය : 034 - 2249473.

01- 191

---

**කොමර්ෂල් බෑන්ක් ඔෆ් සිලොන් පී. එල්. සී. - ගාල්ල නගර ශාඛාව**

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ කොමර්ෂල් බෑන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. (ලියාපදිංචි අංක පී කිව්. 116) මගින් මා වෙත පවරා ඇති බලය ප්‍රකාර ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

තුන්වන උපලේඛනය

දකුණු පළාතේ, ගාල්ල දිස්ත්‍රික්කයේ, ගාල්ල කඩවත් සතරේ මහනගර සභා සීමාව තුළ ගාල්ල කඩවත් සතරේ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ කළුවැල්ල 96 C ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ කුඹල්වැල්ල ගමේ හි පිහිටි මහනගර සභා වරිපනම් අංක 75 දරන ලොට් B ඔටියාපරංගිවත්ත නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු ඒ. ආර්. වීරසූරිය විසින් 2011 නොවැම්බර් මස 03 වැනි දින සහ 2012 පෙබරවාරි මස 10 වැනි දින මැන සාදන ලද අංක 2759 දරන පිඹුරෙන් බෙද වෙන් කරන ලද ලොට් X දරන ප්‍රමාණය පර්චස් විස්සයි දශම බිංදුවයි පහක් (අ. 0, රූ. 0, පර්. 20.05) හෙවත් (හෙක්ටයාර් 0.05071) විශාල ඉඩම සහ පස ගසකොළ ගොඩනැගිලි සහ එහි පිහිටි සියළුදේත් සමග වේ.

සින්නතම්බි සිවනන්දරාජා ණයකරු ලෙස කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. හට ඉහත 3 වන උපලේඛනයේ සඳහන් දේපළ උකස් කර ඇත.

3 වන උපලේඛනයේ සඳහන් දේපළ (අ. 0, රූ. 0 පර්. 20.05) වර්ෂ 2018ක් වූ ජනවාරි මස 26 වැනි දින පෙ. ව. 11.30 ටද ඉහත ස්ථානවලදී මා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

යෝජනා සම්මුතිය සඳහා 2016.12.16 වැනි දින රජයේ *ගැසට් පත්‍රය* සහ ලක්බිම පත්‍රය ද, 2016.12.17 ද අයිලන්ඩ්, සහ වීරකේසරී පුවත්පත් ද බලන්න. විකිණීම පිළිබඳ දැන්වීම සඳහා 2018.01.05 වැනි දින රජයේ *ගැසට් පත්‍රය* ද, සහ 2018.01.05 වැනි දින ලක්බිම, ද අයිලන්ඩ් සහ වීරකේසරි පුවත්පත් ද බලන්න.

*දේපළට පිවිසීම.* - 3 වන උපලේඛනය

ගාල්ලේ සිට කොළඹ පාර ඔස්සේ කොළඹ දෙසට මීටර් 430ක් පමණ ගමන් කළ විට අදාළ දේපළ වම් පසින් පිහිටා ඇත.

*ගෙවීමේ ක්‍රමය.* - විකිණීම ස්ථිර කළ වහාම ගැණුම්කරු විසින් පහත සඳහන් ගෙවීම් වෙන්දේසිකරු වෙත මුදලින් ගෙවිය යුතු ය.

1. ගැණුම් මිලෙන් 10%ක් ද, 2. පළාත් සභා අයබදු සඳහා සියයට එකයි (1%), 3. වෙන්දේසිකරුගේ කොමිස් මුදල් විකුණුම් මිලෙන් සියයට දෙකයි දශම පහයි (2.5%), 4. නොතාරිස් ගාස්තුව රු. 2,000, (05) ලිපිකරු හා සෝෂක වේතනය රු. 500, (06) වෙන්දේසිය සඳහා වැය කරන ලද සියලුම ප්‍රචාරක වියදම්, (07) ගැණුම්කරු විසින් එකතු කළ වටිනාකම් බද්ද (VAT) ගෙවිය යුතු ය. (08) ගැණුම් මිලෙන් ඉතිරි සියයට අනූව (90%) විකිණීමේ දින සිට දින 30ක් තුළ දී කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. හි ප්‍රධාන කාර්යාලයේ හෝ ගාල්ල නගර ශාඛාවේ තැන්පත් කළ යුතු ය.

හිමිකම් ඔප්පු පරීක්ෂා කිරීම සහ වැඩි විස්තර සඳහා පහත සඳහන් අයගෙන් විමසන්න :-

එල්. බී. සේනානායක,
සාම විනිසුරු බලයලත් ජ්‍යෙෂ්ඨ වෙන්දේසිකරු,
තක්සේරුකරු උසාවි කොමසාරිස්,

අංක 200, 2 වන මහල උසාවි පාර, කොළඹ 12
දුරකථන/ෆැක්ස් අංකය 011- 2445393
ඊමේල් : senaservice@sltnet.lk

කළමණාකරු,
කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී.
අංක 130,
මහා වීදිය, ගාල්ල.
දුරකථන අංක 091 - 2234356/091-2242772
ෆැක්ස් අංකය : 091-2234356/091-2234467.

01-192

**සෙලාන් බැංකුව පීඑල්සී - මහනුවර ශාඛාව**

1990 අංක 04 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 09 වන වගන්තිය යටතේ ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

මෙම දේපළ මහනුවර ලියාපදිංචි අංක පීවී 20258 දරන ශ්‍රී ලංකාව තුළ යථා පරිදි සංස්ථාපිත සමාගමක් වන ඕ වූ නෙට්වර්ක් ලංකා (ප්‍රයිවට්) ලිමිටඩ් යන අය බන්ධනදයි වශයෙන් සෙලාන් බැංකුව පීඑල්සී වෙතින් ලබාගන්නා ලද ණය පහසුකම් වෙනුවෙන් බැංකුවට සුරක්ෂිත කර ඇත.

*1 වන වෙන්දේසිය .-*

මධ්‍යම පළාතේ, මහනුවර දිස්ත්‍රික්කයේ, මහනුවර මහ නගර සභා සීමාව තුළ ගඟවට කෝරළේ ප්‍රාදේශීය ලේකම් කාර්යාල කොට්ඨාසයේ සහ කඩවත් සතර ග්‍රාමසේවක කොට්ඨාසයේ, මාවිල්මඩ තුළ මාවිල්මඩ පිහිටි බලයලත් මිනින්දෝරු රංජිත් වීරසිංහ විසින් සාදන ලද 2013.02.03 දිනැති අංක 1026/2013 දර සැලැස්මේ නිරූපණය වන ගිරා-අඹ දෙනියේ කුඹුර දූන් වත්ත නමැති ඉඩමෙන් ලොට් 2 ඒ සහ ලොට් 3 ඒ ලකුණු කළ බෙද වෙන් කරන ලද එකතු කළ ඉඩම් කොටස මුළු ප්‍රමාණය පර්චස් විසි නවයයි දශම අටයි නවයයි හතරක් (අ. 0 රූ. 0 පර්. 29.894) ක් හෙක්ටයාර් 0.07561 විශාල, ගස්, වගා, ගොඩනැගිලි සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම.

ඉහත සඳහන් දේපළ 2018 ජනවාරි මස 26 වැනි දින පෙරවරු 11.30 ට එම දේපළ පිහිටි ස්ථානයේ දී මා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

*දේපළට පිවිසීම.* - මහනුවර සිට කටුගස්තොට මාර්ගය ඔස්සේ මාවිල්මඩ හන්දිය දක්වා පැමිණ දකුණුපසට ඇති මාවිල්මඩ පාරට හැරී තවත් මීටර් 500 ක පමණ දුරක් ගිය විට වම්පසට ඇති වාහන ගමන් කළ හැකි නගර සභා පාරට හැරෙන්න. එම මාර්ගය දිගේ තවත් මීටර් 350 ක පමණ දුරක් ගිය විට දකුණුපසට ඇති කොන්ක්‍රීට් කළ පාරට හැරී තවත් මීටර් 50 ක පමණ දුරක් ගිය විට අදළ දේපළ මාර්ගයට යාබද ව පාරේ දකුණු පසින් පිහිටා ඇත.

*2 වන වෙන්දේසිය.* -

මධ්‍යම පළාතේ, මහනුවර දිස්ත්‍රික්කයේ, උඩුනුවර ගඟපළාත කෝරළේ, උඩුනුවර ප්‍රාදේශීය ලේකම් කාර්යාල කොට්ඨාසයේ සහ ප්‍රාදේශීය සභා සීමාව තුළ සහ මීවතුර ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, මීවතුර ගමේ පිහිටි බලයලත් මිනින්දෝරු පී. එම්. පී. මුණසිංහ විසින් සාදන ලද 2008.11.10 වැනි දිනැති අංක 3579 දරන සැලැස්මේ නිරූපණය වන කටුලියද්දෙගොඩ වත්ත නමැති ඉඩමෙන් ලොට් 1 ලකුණු කළ බෙදවෙන් කරන ලද ඉඩම් කොටස පර්චස් දහසයයි දශම පහයි බිංදුවක් (අ. 0 රූ. 0 පර්. 16.50) ක් විශාල බ/මී. පී. ඩබ්ලිව. විජේවර්ධන ගේ අංක 2238 සැලැස්මේ නිරූපණය වන මීටර් 3ක් පළල මාර්ගය පාවිච්චි කිරීමේ අයිතිය සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම.

| *I වන තීරුව* | | *II වන තීරුව* | | |
|---|---|---|---|---|
| *අනු. අංකය* | *කර්මාන්තය* | *පරිශ්‍රයෙහි වාර්ෂික වටිනාකම* | | |
| | | *රු. 750 නොඉක්මවන අවස්ථාවක* | *රු.750 ඉක්මවන එහෙත් රු.1500 නොඉක්මවන අවස්ථාවක* | *රු. 1,500 ඉක්මවන අවස්ථාවක* |
| | | *රු. ශත* | *රු. ශත* | *රු. ශත* |
| 17. | කුළුබඩු වර්ග, බෙහෙත් බඩු වර්ග හා පහන් තිර ආදී ද්‍රව්‍යයන් ඇසුරුම් කිරීමේ ස්ථානයක් පවත්වාගෙන යාම | 500 0 | 750 0 | 1000 0 |
| 18. | පපඩම් නිෂ්පාදනය කිරීමේ ස්ථානයක් පවත්වාගෙන යාම | 500 0 | 750 0 | 1000 0 |
| 19. | හඳුන්කූරු නිෂ්පාදනය කරන ස්ථානයක් පවත්වාගෙන යාම | 500 0 | 750 0 | 1000 0 |
| 20. | ඔරලෝසු අලුත්වැඩියා කිරීමේ ස්ථානයක් පවත්වාගෙන යාම | 500 0 | 750 0 | 1000 0 |
| 21. | පරිගණක, පරිගණක උපාංග හෝ ජංගම දුරකථන අලුත්වැඩියා කිරීමේ ස්ථානයක් පවත්වාගෙන යාම | 500 0 | 750 0 | 1000 0 |

01 - 62/2

---

**පාලින්දනුවර ප්‍රාදේශීය සභාව**

2018 වර්ෂය සඳහා ව්‍යාපාර බදු පැනවීම

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල, ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තිය සමග කියවිය යුතු එම පනතේ 152 (1) වගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය සඳහා 2018 වර්ෂයට අදාළව ව්‍යාපාර බදු නියම කිරීම පහත සඳහන් ආකාරයට විය යුතු බවට මම තීරණය කරමි.

එනම් :

1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වන වගන්තියේ (3) වැනි උප වගන්තිය සමග කියවිය යුතු එම පනතේ 152 වැනි වගන්තියේ (1) වැනි උපවගන්තිය යටතේ පාලින්දනුවර ප්‍රාදේශීය සභාවට පැවරී ඇති බලතල ප්‍රකාර, එකී පනතේ හෝ ඒ යටතේ සාදන ලද අතුරු ව්‍යවස්ථාවක විධිවිධාන යටතේ බලපත්‍රයක් ලබාගැනීම හෝ එම පනතේ 150 වැනි වගන්තිය යටතේ යම් බද්දක් ගෙවීම අවශ්‍ය නොවන්නාවූ යම් ව්‍යාපාරයක් පාලින්දනුවර ප්‍රාදේශීය බල ප්‍රදේශය ඇතුළත 2018 වර්ෂයේ දී පවත්වාගෙන යන සෑම තැනැත්තෙකුගෙන්ම එම ව්‍යාපාරයේ 2017 වර්ෂයේ ආදායම මෙහි පහත උපලේඛනයේ I වැනි තීරුවේ නිරූපිත යම් විෂයාංක සීමාවන් ඇතුළත පවතින අවස්ථාවක එකී II වැනි තීරුවේ අනුරූප සටහනේ නිරූපිත අනුප්‍රමාණයක ව්‍යාපාර බද්දක් 2018 වර්ෂය සඳහා නියම විය යුතු බවට මම තීරණය කරමි.

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක කරන නිලධාරි,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

| *I වැනි තීරුව* | | *II වැනි තීරුව* |
|---|---|---|
| *අනු. අංකය* | *2017 වර්ෂයේ දී ව්‍යාපාරයේ ආදායම* | *රු. ශත* |
| 1 | රු. 6,000 නොඉක්මවන අවස්ථාවක | කිසිවක් නොමැත |
| 2 | රු. 6,000 ඉක්මවන නමුත් රු. 12,000 නොඉක්මවන අවස්ථාවක | 90.00 |
| 3 | රු. 12,000 ඉක්මවන නමුත් රු. 18,750 නොඉක්මවන විට | 180.00 |
| 4 | රු. 18,750 ඉක්මවන නමුත් රු. 75,000 නොඉක්මවන විට | 300.00 |
| 5 | රු. 75,000 ඉක්මවන නමුත් රු. 150,000 නොඉක්මවන විට | 1,200.00 |
| 6 | රු. 150,000 ඉක්මවන විට | 3,000.00 |

01 - 62/3

**පාලින්දනුවර ප්‍රාදේශීය සභාව**

2018 වර්ෂය සඳහා වරිපනම් බදු

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ.ඒ.ඩී.එස්.එස්. කුඹලාතර වන මම 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උප වගන්තිය සමග කියවිය යුතු එම පනතේ 134 වැනි වගන්තියේ (1) වන උප වගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය සඳහා 2018 වර්ෂයට අදාළව වරිපනම් බදු නියම කිරීම පහත සඳහන් ආකාරයට විය යුතු බවට තීරණය කරමි.

එනම් :

1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 146 වැනි වගන්තියේ (1) වැනි උපවගන්තිය යටතේ පාලින්දනුවර ප්‍රාදේශීය සභාව වෙත පැවරී ඇති බලතල ප්‍රකාරව 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වන වගන්තියේ (3) වැනි උපවගන්තිය සමග කියවිය යුතු පනතේ 134 වැනි වගන්තියේ (1) වැනි උපවගන්තියෙන් මා වෙත පැවරී ඇති බලතල ප්‍රකාර, නිවාසවල, ගොඩනැගිලිවල, ඉඩම්වල, ගෙපත්වල වාර්ෂික වටිනාකමින් සියයට හයක (6%) වාර්ෂික වරිපනම් බද්දක් නියම විය යුතු බවටත්, 2017 වසරේ වාර්ෂික තක්සේරුව 2018 වසරේ වාර්ෂික තක්සේරුව ලෙස පිළිගැනීමටත්,

තවද, 2018 වර්ෂයෙහි පහත උපලේඛනයේ සඳහන් එක් එක් කාර්තුව වෙනුවෙන් ඉදිරියෙන් නිරූපිත දිනයට පෙර එසේ නියම කරන ලද වාර්ෂික වරිපනම් බද්ද පාලින්දනුවර ප්‍රාදේශීය සභා අරමුදලට ගෙවිය යුතු බවටත්, එලෙස වාර්ෂික වරිපනම් බද්ද 2018 වර්ෂයෙහි ජනවාරි මස 31 වැනි දින හෝ ඊට ප්‍රථම ගෙවන්නේ නම් වාර්ෂික වරිපනම් බද්දේ ප්‍රමාණයෙන් සියයට දහයක (10%) ක වට්ටමක් ද, එකී උපලේඛනයෙහි එක් එක් කාර්තුව ඉදිරියේ තුන්වන තීරුවේ නිරූපිත දිනයට පෙර අදාළ වරිපනම් බදු මුදල පාලින්දනුවර ප්‍රාදේශීය සභා අරමුදලට ගෙවනු ලබන්නේ නම් එක් කාර්තුවකට අදාළ මුදලින් 5%ක වට්ටමක් ද පාලින්දනුවර ප්‍රාදේශීය සභාවට ලබා දිය යුතු බවටත් තීරණය කරමි.

| කාර්තුව | ගෙවිය යුතු දිනය | 5% වට්ටම සඳහා හිමිකම් ලබන අවසාන දිනය |
|---|---|---|
| පළමුවන කාර්තුව | 2018.03.31 | 2018.01.31 |
| දෙවන කාර්තුව | 2018.06.30 | 2018.04.30 |
| තුන්වන කාර්තුව | 2018.09.30 | 2018.07.31 |
| හතරවන කාර්තුව | 2018.12.31 | 2018.10.31 |

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක කරන නිලධාරි,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

01 - 62/4

---

**පාලින්දනුවර ප්‍රාදේශීය සභාව**

2018 වර්ෂය සඳහා අක්කර බදු

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තිය සමග කියවිය යුතු එම පනතේ 134 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය සඳහා 2018 වර්ෂයට අදාළව අක්කර බදු නියම කිරීම පහත සඳහන් ආකාරයට විය යුතු බවට මම තීරණය කරමි.

එනම් :

1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 146 වන වගන්තියේ (1) වන උප වගන්තිය යටතේ පාලින්දනුවර ප්‍රාදේශීය සභාව වෙත පැවරී ඇති බලතල ප්‍රකාරව 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වන උපවගන්තිය සමග කියවිය යුතු එම පනතේ 134 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තියෙන් මා වෙත පැවරී ඇති බලතල ප්‍රකාර, එකී දේපළ මත පහත I වැනි උපලේඛනයෙහි සඳහන් පරිදි අක්කර බද්දක් නියම විය යුතු බවටත්, 2017 වසරේ මෙම සභා

තවද, 2018 වර්ෂයෙහි පහත II වැනි උපලේඛනයෙහි සඳහන් එක් එක් කාර්තුව වෙනුවෙන් ඉදිරියෙන් නිරූපිත දිනයට පෙර එසේ නියම කරන ලද වාර්ෂික අක්කර බද්ද පාලින්දනුවර ප්‍රාදේශීය සභා අරමුදලට ගෙවිය යුතු බවටත්, එලෙස වාර්ෂික අක්කර

බද්ද 2018 වර්ෂයෙහි ජනවාරි මස 31 වැනි දින හෝ ඊට ප්‍රථම ගෙවන්නේ නම් වාර්ෂික අක්කර බද්දේ ප්‍රමාණයෙන් සියයට දහයක (10%) ක වට්ටමක් ද, එකී උපලේඛනයෙහි එක් එක් කාර්තුව ඉදිරියේ තුන්වන තීරුවේ නිරූපිත දිනයට පෙර අදාළ අක්කර බදු මුදල පාලින්දනුවර ප්‍රාදේශීය සභා අරමුදලට ගෙවනු ලබන්නේ නම් එක් කාර්තුවකට අදාළ මුදලින් 5%ක වට්ටමක් ද පාලින්දනුවර ප්‍රාදේශීය සභාවට ලබා දිය යුතු බවටත් තීරණය කරමි.

I උපලේඛන

| ඉඩමේ ප්‍රමාණය | බදු අනුප්‍රමාණය වර්ෂයකට (රු.) |
|---|---|
| ඉඩම් ප්‍රමාණය හෙක්ටයාර් පහකට අඩු නමුත් හෙක්ටයාර් එකකට නොඅඩු අවස්ථාවක | 50 0 |
| ඉඩම් ප්‍රමාණය හෙක්ටයාර් පහක් හෝ ඊට වැඩි වන අවස්ථාවක | 10 0 |

II උපලේඛන

| කාර්තුව | ගෙවිය යුතු දිනය | 5% වට්ටම සඳහා හිමිකම් ලබන අවසාන දිනය |
|---|---|---|
| පළමුවන කාර්තුව | 2018.03.31 | 2018.01.31 |
| දෙවන කාර්තුව | 2018.06.30 | 2018.04.30 |
| තුන්වන කාර්තුව | 2018.09.30 | 2018.07.31 |
| හතරවන කාර්තුව | 2018.12.31 | 2018.10.31 |

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක කරන නිලධාරි,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

01 - 62/5

---

**පාලින්දනුවර ප්‍රාදේශීය සභාව**

2018 වර්ෂය සඳහා විනෝද බදු

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තිය සමග කියවිය යුතු 1946 අංක 12 දරන විනෝද බදු ආඥාපනතේ 2 වැනි වගන්තියේ (1) වන උපවගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය සඳහා 2018 වර්ෂයට අදාළව විනෝද බදු නියම කිරීම පහත සඳහන් ආකාරයට විය යුතු බවට තීරණය කරමි.

| *අනු. අංකය* | *ඇතුළුවීමට ගෙවන ලද ප්‍රවේශ පත්‍රයක ගාස්තුව* | *විනෝද බදු ප්‍රතිශතය* |
|---|---|---|
| 01. | රු. 10 0ට වැඩි නමුත් රු. 25 0 නොඉක්මවන අවස්ථාවක | 15% |
| 02. | රු. 25 0ට වැඩි නමුත් රු. 50 0 නොඉක්මවන අවස්ථාවක | 20% |
| 03. | රු. 50 0 ට වැඩි වන අවස්ථාවක | 25% |
| 04. | චිත්‍රපටයක් නැරඹීම සඳහා ගෙවනු ලබන ඕනෑම ප්‍රවේශ පත්‍රයක් සඳහා | 25% |

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක කරන නිලධාරි,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

01 - 62/6

## පාලින්දනුවර ප්‍රාදේශීය සභාව

2018 වර්ෂය සඳහා වාහන හා සතුන් පිළිබඳ බදු

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තිය සමග කියවිය යුතු එම පනතේ 147 වගන්තිය සහ 148 වැනි වගන්තියේ (1) වැනි උපවගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය සඳහා 2018 වර්ෂයට අදාළව වාහන හා සතුන් පිළිබඳ බදු නියම කිරීම පහත සඳහන් ආකාරයට විය යුතු බවට මම තීරණය කරමි.

එනම් :

1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 147 වැනි වගන්තිය සමග කියවිය යුතු එම පනතේ 148 වැනි වගන්තියේ (1) වන උප වගන්තිය හා හතරවන උපලේඛනය යටතේ පාලින්දනුවර ප්‍රාදේශීය සභාව වෙත පැවරී ඇති බලතල ප්‍රකාරව 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වන උපවගන්තිය සමග කියවිය යුතු 147 වගන්තිය සහ 148 වන වගන්තියේ (1) උපවගන්තියෙන් මා වෙත පැවරී ඇති බලතල ප්‍රකාර, උපලේඛනයෙහි සඳහන් පරිදි 2018 වර්ෂය සඳහා වාහන හා සතුන් පිළිබඳ බදු නියම විය යුතු බවට් තීරණය කරමි.

| | | රු. ශත |
|---|---|---|
| 01. | මෝටර් රථයක්, මෝටර් ට්‍රයි කාරයක්, මෝටර් ලොරියක්, මෝටර් බයිසිකලයක්, කරත්තයක්, ජින් රික්ෂෝවක්, බයිසිකලයක් හෝ ට්‍රයිසිකලයක් නොවන සෑම වාහනයක් සඳහා | 25 0 |
| 02. | සෑම බයිසිකලයක් හෝ ට්‍රයිසිකලයක් හෝ බයිසිකල් කාරයක් හෝ කරත්තයක් සඳහා | |
| | (අ) වෙළෙඳ කාර්යයන් සඳහා යොදවන්නේ නම් | 18 0 |
| | (ආ) වෙළෙඳ නොවන කාර්යයන් සඳහා යොදවන්නේ නම් | 4 0 |
| 03. | සෑම කරත්තයක් සඳහා | 20 0 |
| 04. | සෑම අත් කරත්තයක් සඳහා | 10 0 |
| 05. | සෑම රික්ෂෝවක් සඳහා | 7 5 |
| 06. | සෑම අශ්වයෙකු, පෝනියෙකු හෝ කොටළුවෙකු සඳහා | 15 0 |
| 07. | සෑම ඇතෙකු සඳහා | 50 0 |

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක කරන නිලධාරී,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

01 - 62/7

---

## පාලින්දනුවර ප්‍රාදේශීය සභාව

2018 වර්ෂය සඳහා ඉඩම් විකිණීම මත බදු අය කිරීම

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තිය සමග කියවිය යුතු එම පනතේ 154 වැනි වගන්තියේ (1) වැනි උපවගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශයේ සීමාවන් ඇතුළත වූ යම් ඉඩමක් වෙන්දේසිකරුවෙකු හෝ තැරැව්කරුවෙකු හෝ ඔහුගේ සේවකයා හෝ අනුයෝජිතයා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ හෝ අන්‍යාකාරයකින් විකුණනු ලබන අවස්ථාවක, ඒ ඉඩම විකිණීමෙන් ලත් මුදලින් සියයට එකකට (1%) සමාන බද්දක් 2018 වර්ෂය නියම කිරීමට තීරණය කරමි.

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක කරන නිලධාරී,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

01 - 62/8

## පාලින්දනුවර ප්‍රාදේශීය සභාව

2018 වර්ෂය සඳහා පරිසර ආරක්ෂණ බලපත්‍ර වෙනුවෙන් ගාස්තු පැනවීම

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී .එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය තුළ පරිසර ආරක්ෂණ බලපත්‍ර පහත උපලේඛනයේ සඳහන් කර්මාන්ත වෙනුවෙන් 2018 වර්ෂය සඳහා පරිසර ආරක්ෂණ බලපත්‍ර ගාස්තු අයකිරීමට තීරණය කරමි.

1988 අංක 56 සහ 2000 අංක 53 දරන පනත්වලින් සංශෝධිත 1980 අංක 47 දරන ජාතික පාරිසරික පනත හා ඒ යටතේ සකස් කරන ලද රෙගුලාසිවලට අනුකූලව අංක 1534/18 දරන වර්ෂ 2008 ක් වූ පෙබරවාරි මස 01 වන දිනැති ගැසට් පත්‍රයේ "ඇ" ලේඛනයේ හා මෙහි "අ" උපලේඛනයේ සඳහන් කර්මාන්තයක් සඳහා පරිසර ආරක්ෂණ බලපත්‍ර නිකුත්කිරීම, අලුත් කිරීම, අවලංගු කිරීම හා අත්හිටුවීම මෙම අධිකාරී බලය යටතේ සිදුකරනු ලැබේ. පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශ සීමාව තුළ ඉහත කී පනත් හා අදාළ සංශෝධන යටතේ පනවන ලද රෙගුලාසිවලට අනුව ව්‍යාපාර පවත්වාගෙන යනු ලබන්නන් විසින් 2018.01.01 වැනි දින සිට ක්‍රියාත්මක වන පරිදි පරිසර ආරක්ෂණ බලපත්‍ර ගාස්තුව වසර 03 ක් හෝ ඊට අඩු කාලයක් සඳහා රු. 4,000.00 ක බලපත්‍ර ගාස්තුවක් ද රු. 500.00 ක අයදුම්පත්‍ර ගාස්තුවක් ද "ආ" උපලේඛනයේ සඳහන් පරීක්ෂණ ගාස්තුවක් පනවා අය කිරීමට තීරණය කරමි.

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,<br>
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ<br>
බලතල ක්‍රියාත්මක කරන නිලධාරී,<br>
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

**"අ" උපලේඛනය**

1 සියලුම වාහන ඉන්ධන පිරවුම් හල් (ද්‍රව පෙට්‍රෝලියම් හා ද්‍රවකෘත පෙට්‍රෝලියම් වායු)
2 සේවක සංඛ්‍යාව 10 ක් හෝ ඊට වැඩි සංඛ්‍යාවක් සේවයේ යෙදෙන ඉටිපන්දම් නිෂ්පාදන කර්මාන්ත
3 සේවක සංඛ්‍යාව 10 ක් ඊට වැඩි සංඛ්‍යාවක් සහ 25 ට අඩු සේවක සංඛ්‍යාවක් සේවයේ යොදවන පොල්තෙල් සිඳීමේ කර්මාන්ත
4 සේවක සංඛ්‍යාව 10 ක් ඊට වැඩි සංඛ්‍යාවක් සහ 25 ට අඩු සේවක සංඛ්‍යාවක් සේවයේ යොදවන මධ්‍යසාර අඩංගු නොවන බීම වර්ග නිෂ්පාදනය කිරීමේ කර්මාන්ත
5 වියළි ක්‍රියාවලි සහිත වී මෝල්
6 මාසික නිෂ්පාදන ධාරිතාව කිලෝග්‍රෑම් 1000ට අඩු වන ඇඹරුම්හල්
7 දුම්කොළ වේලීමේ කර්මාන්ත
8 සල්ෆර් දුම් ගැසීම් සහිත එක් ක්‍රියාවලියකදී නිෂ්පාදන ධාරිතාව කිලෝග්‍රෑම් 500ක් හෝ එයට වැඩි ධාරිතාවක් සහිත කුරුඳු දුම් ගැසීමේ කර්මාන්ත
9 කෑමට ගන්නා ලුණු ඇසිරීමේ හා සැකසීමේ කර්මාන්ත
10 ක්ෂණික තේ කර්මාන්තශාලා හැර අනෙකුත් තේ කර්මාන්තශාලා
11 කොන්ක්‍රීට් පෙරසවි කර්මාන්ත
12 යන්ත්‍රානුසාරයෙන් සිමෙන්ති බ්ලොක් ගල් නිෂ්පාදනය කිරීමේ කර්මාන්ත
13 දිනකට මෙට්‍රික් ටොන් 20ට අඩු නිෂ්පාදන ධාරිතාවයක් සහිත හුණු පෝරණු
14 ප්ලාස්ටර් ඔෆ් පැරිස් නිෂ්පාදනය කිරීමේ කර්මාන්ත හෝ සේවකයන් 25ට අඩු සංඛ්‍යාවක් සේවයේ නියුක්ත පිඟන් මැටි භාණ්ඩ නිෂ්පාදනය කිරීමේ කර්මාන්ත
15 සියලු බෙලිකටු ඇඹරීමේ කර්මාන්ත
16 උළු සහ ගඩොල් කර්මාන්ත

| | |
|---|---|
| 17 | එක් වසරකට එක් බෝර වලක් බැගින් පුපුරවමින් මසකට ඝන මීටර 600ක නිෂ්පාදන ධාරිතාවයකට අඩු මිනිස් ශ්‍රමය හා පුපුරන ද්‍රව්‍ය භාවිතයෙන් සිදුකරනු ලබන කැනීම් |
| 18 | දිනකට ඝන මීටර 50කට අඩු ඉරුම් ධාරිතාවක් ඇති ලී මෝල් හෝ බෝරෝන් පිරියම් ක්‍රමය භාවිතයෙන් දැව පිරියම් කිරීමේ කර්මාන්තයක් හෝ දැව පදම් කිරීමේ කර්මාන්ත |
| 19 | බහු කාර්ය යන්ත්‍ර භාවිතා කරන වඩු කර්මාන්ත හෝ සේවකයින් 5කට වැඩි 25කට අඩු සේවක සංඛ්‍යාවක් සේවයේ යෙදෙන දැව ආශ්‍රිත කර්මාන්ත |
| 20 | නේවාසික කාමර 5ට අඩු හෝ ඊට වැඩි සහ 20ට අඩු හෝටල්, ආගන්තුක නිවාස සහ තානායම් |
| 21 | වාහනවල වායු සමීකරණ යන්ත්‍ර අලුත්වැඩියා කිරීමේ, නඩත්තු කිරීමේ හා සවිකිරීමේ කටයුතු හෝ විසිරි පින්තාරු කටයුතු සිදුකරන ගරාජ් හැර අනෙකුත් වාහන අලුත්වැඩියා කිරීමේ නඩත්තු කිරීමේ කටයුතු සිදුකරන ගරාජ් |
| 22 | ශීතකරණ හා වායු සමීකරණ යන්ත්‍ර අලුත්වැඩියා කිරීම, නඩත්තු කිරීම හා සවිකිරීම සිදුකරන ස්ථාන |
| 23 | වාහන සේවා කටයුතු සිදුනොකරන කන්ටේනර් බහාලු පර්යන්ත |
| 24 | සේවකයින් 10ක් හෝ ඊට වැඩි සංඛ්‍යාවක් සේවයේ යෙදෙන සියලු විදුලි හෝ ඉලෙක්ට්‍රොනික් භාණ්ඩ අලුත්වැඩියා කිරීමේ ස්ථාන |
| 25 | ඊයම් උණුකිරීම සිදුකිරීම ඇතුළත් නොවන මුද්‍රණාල සහ අකුරු මුද්‍රණය කිරීමේ යන්ත්‍ර |

**"අ" උපලේඛනය**

| අනු. අංකය | ආයෝජනය (රුපියල්) | පරීක්ෂා කිරීමේ ගාස්තුව රු. ශත |
|---|---|---|
| 1 | රු. 2,50,000 හෝ ඊට අඩු | 3,000.00 |
| 2 | රු. 2,50,001 - රු. 500,000 දක්වා | 3,750.00 |
| 3 | රු. 5,00,001 - රු. 10,00,000 දක්වා | 5,000.00 |
| 4 | රු. 10,00,000 ට වැඩි | 10,000.00 |

01 - 62/9

---

**පාලින්දනුවර ප්‍රාදේශීය සභාව**

2018 වර්ෂය සඳහා සංවර්ධනය නොකළ ඉඩම්වලින් බදු අයකිරීම

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ.ඒ.ඩී.එස්.එස්. කුඹලාතර වන මම 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වන වගන්තියේ (3) වන උපවගන්තිය සමග කියවිය යුතු එම පනතේ 153 වගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශ තුළ සංවර්ධනය නොකළ සියළුම ඉඩම්වලින් අදාළ ඉඩමේ ප්‍රාග්ධන වටිනාකමින් 2% ක් වූ බද්දක් 2018 වර්ෂය සඳහා පනවා අයකිරීමට මම තීරණය කරමි.

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක කරන නිලධාරි,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

01 - 62/10

---

**පාලින්දනුවර ප්‍රාදේශීය සභාව**

2018 වර්ෂය සඳහා ගොඩනැගිලි ඉදිකිරීම මත ගාස්තු පැනවීම

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තිය සමග කියවිය යුතු එම පනතේ 21, 49, 78 වගන්තිවල විධිවිධාන ප්‍රකාරව හා 1988.08.23 වන දින අංක 520/7 දරන පළාත් පාලන *අති විශේෂ ගැසට් පත්‍රයේ* IV (ආ) කොටසේ 08 වන අතුරු ව්‍යවස්ථාව ප්‍රකාරව, ගරු අමාත්‍යතුමා විසින් ප්‍රකාශයට පත්කරනු ලදුව (260 වැනි අධිකාරිය

වන) නිවාස හා නගර සංවර්ධන ආඥපනතේ වගන්තිවලින් පැවරී ඇති බලතල ප්‍රකාර පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශ සීමාව තුළ ගොඩනැගිලි ඉදිකිරීම සඳහා පහත උපලේඛනයේ සඳහන් ගාස්තු 2018 වර්ෂය සඳහා පනවා අයකිරීමට තීරණය කරමි.

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක නිලධාරී,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

උපලේඛනය

| අනු. අංකය | වර්ග ප්‍රමාණය | නේවාසික සඳහා රු. ශත | ව්‍යාපාරික සඳහා රු. ශත |
|---|---|---|---|
| 01 | වර්ග අඩි 500 ට අඩු | 500.00 | 750.00 |
| 02 | වර්ග අඩි 500 - 2000 දක්වා වැඩිවන සෑම වර්ග අඩියක් සඳහා | 1.50 | 2.00 |
| 03 | වර්ග අඩි 2001 - 4000 දක්වා වැඩිවන සෑම වර්ග අඩියක් සඳහා | 2.50 | 3.00 |
| 04 | වර්ග අඩි 4000 ට වැඩිවන සෑම වර්ග අඩියක් සඳහා | 3.50 | 4.00 |

01 - 62/11

---

**පාලින්දනුවර ප්‍රාදේශීය සභාව**

2018 වර්ෂය සඳහා සේවා සඳහා ගාස්තු

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව හා 2015.12.28 වන දින අංක 1947/6 දරන *ගැසට් පත්‍රය* ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය සඳහා 2018 වර්ෂයට අදාළව සේවා සඳහා ගාස්තු නියම කිරීම පහත සඳහන් ආකාරයට විය යුතු බවට තීරණය කරමි.

| *අනු. අංකය* | *කාරණය* | *රු. ශත* |
|---|---|---|
| | ඉල්ලුම්පත්‍ර නිකුත් කිරීම | |
| 01. | පෙර පාසල් සඳහා ඇතුළත් වීමේ ඉල්ලුම්පත්‍ර | 1,000 0 |
| 02. | පුස්තකාල සාමාජිකත්වය | |
| | I. ඉල්ලුම්පත්‍ර | 75 0 |
| | II. තැන්පත් මුදල | 100 0 |
| 03. | වරිපනම් ලේඛනයේ උද්‍ධෘත ලබාගැනීම සඳහා ඉල්ලුම්පත්‍ර | 50 0 |
| 04. | සැපයුම්කරුවන් ලියාපදිංචි කිරීමේ ඉල්ලුම්පත්‍ර | 1,000 0 |
| 05. | වීථි රේඛා සහතිකයක් ලබා ගැනීම සඳහා ඉල්ලුම්පත්‍ර | 50 0 |
| 06. | නොපවරා ගැනීමේ සහතිකයක් ලබා ගැනීම සඳහා ඉල්ලුම්පත්‍ර | 50 0 |
| | සහතික පත්‍ර නිකුත් කිරීම | |
| 07. | වීථි රේඛා සහතික | 500 0 |
| 08. | නොපවරා ගැනීමේ සහතික | 500 0 |
| 09. | වරිපනම් ලේඛන ආශ්‍රයෙන් හිමිකම් පිළිබඳ සහතික | 500 0 |

| අනු. අංකය | කාරණය | | රු. ශත |
|---|---|---|---|
| 10. | වරිපනම් ලේඛනවල උධෘත සනාථ කරන සහතික | | |
| | | I. පවත්නා වර්ෂය | 100 0 |
| | | II. පසුගිය වසර 05 දක්වා (වසරකට) | 50 0 |
| | | III. පසුගිය වසර 05 සිට 10 දක්වා (වසරකට) | 100 0 |
| | | IV. වසර 10 සිට වැඩිවන සෑම වසරකටම | 150 0 |
| 11. | නිකුත්කරන ලද තක්සේරු නිවේදන සනාථ කරන සහතික | | 200 0 |

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්යය කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක කරන නිලධාරි,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

01 - 62/12

---

## පාලින්දනුවර ප්‍රාදේශීය සභාව

2018 වර්ෂය සඳහා සහතිකපත් හා වෙනත් සේවා සඳහා ගාස්තු

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්යය කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය සඳහා 2018 වර්ෂයට අදාළව සහතිකපත් හා වෙනත් ආදායම් මත ගාස්තු නියම කිරීම පහත සඳහන් ආකාරයට විය යුතු බවට තීරණය කරමි.

| අනු. අංකය | කාරණය | | රු. ශත |
|---|---|---|---|
| 01 | ගොඩනැගිලි අයදුම්පත්‍රයක් සඳහා | | 1,000 0 |
| 02 | අනතුරුදයක ගස් අයදුම්පත්‍රයක් සඳහා | | 500 0 |
| 03 | වෙනත් සහතිකයක් සඳහා | | 250 0 |
| 04 | දේපළ හැරවීමේ අයදුම්පත්‍රයක් සඳහා | | 250 0 |
| 05 | අනතුරුදයක ගස් අයදුම්පත්‍රයක් සඳහා | | 500 0 |
| 06 | ව්‍යාපාරයක් හෝ කර්මාන්තයක් පවත්වාගෙන යාම සනාථ කිරීම පිළිබඳ සහතික | | |
| | | I. පවත්නා වර්ෂය | 100 0 |
| | | II. පසුගිය වසර 05 දක්වා (වසරකට) | 50 0 |
| | | III. පසුගිය වසර 05 සිට 10 දක්වා (වසරකට) | 100 0 |
| | | IV. වසර 10 සිට වැඩිවන සෑම වසරකටම | 150 0 |
| 07 | බලපත්‍රයක් යටතේ ව්‍යාපාර පවත්වාගෙන යාම සනාථ කිරීම පිළිබඳ සහතික | | |
| | | I. පවත්නා වර්ෂය | 100 0 |
| | | II. පසුගිය වසර 05 දක්වා (වසරකට) | 50 0 |
| | | III. පසුගිය වසර 05 සිට 10 දක්වා (වසරකට) | 100 0 |
| | | IV. වසර 10 සිට වැඩිවන සෑම වසරකටම | 150 0 |
| 08 | දේපළ හැරවීමේ අයදුම්පත්‍රයක් සඳහා (වරිපනම් පෝරම) | | 250 0 |
| 09 | වෙන්දේසි නොකොට අනුමත කරනු ලබන පිඹුරු පතකට හෝ බිම් කැබැල්ලකට | | 1,000 0 |
| 10 | සභාව සතු ප්‍රජා ශාලාව දිනකට බදු දීම සඳහා | | 1,500 0 |
| 11 | සභාව සතු ට්‍රැක්ටර් රථය දිනකට කුලියට දීම සඳහා (ඉන්ධන රහිතව) | | 4,000 0 |
| 12 | සභාව සතු ට්‍රැක්ටර් රථය මන්ත්‍රීතුමන්ලාට දිනකට කුලියට දීම සඳහා (ඉන්ධන රහිතව) | | 1,000 0 |
| 13 | විදුලිජනක යන්ත්‍රය දිනකට කුලියට දීම සඳහා (ඉන්ධන රහිතව) | | 4,000 0 |
| 14 | කොන්ක්‍රීට් මිශ්‍රණ යන්ත්‍රය දිනකට කුලියට දීම සඳහා (ඉන්ධන රහිතව) | | 2,500 0 |
| 15 | පස් තලන යන්ත්‍රය දිනකට කුලියට දීම සඳහා (ඉන්ධන රහිතව) | | 3,000 0 |
| 16 | අනුකූලතා සහතිකයක් සඳහා | | 1,500 0 |

| *අනු. අංකය* | *කාරණය* | *රු. ශත* |
|---|---|---|
| 17 | සභාව සතු ජේ.සී.බී. යන්ත්‍රය කුළියට දීම (පැය 01 කට) | 2,300 0 |
| 18 | සභාව සතු ටිපර් රථය කුළියට දීම (පැය 08 ක් සඳහා ඉන්ධන රහිතව) | 6,000 0 |
| 19 | ළිං ඉසීමේ මෝටරය (ළිඳකට) | 500 0 |
| 20 | වතුර ටැංකිය (දිනකට - ලීටර් 2000) | 500 0 |
| 21 | ටකරන් මඩුව | 250 0 |
| 22 | කොඩි කණු 01 ක් සඳහා (දිනකට) (පුණ්‍ය ආයතන හැර) | 10 0 |

01 - 62/14

---

**පාලින්දනුවර ප්‍රාදේශීය සභාව**

2018 වර්ෂය සඳහා සේවා සඳහා ගාස්තු

පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන, කාර්ය, කර්තව්‍ය ඉටු කරන, පාලින්දනුවර ප්‍රාදේශීය සභාවේ ලේකම් කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර වන මම, 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9 වැනි වගන්තියේ (3) වැනි උපවගන්තියෙහි විධිවිධාන ප්‍රකාරව හා 2015.12.28 වන දින අංක 1947/6 දරන *ගැසට් පත්‍රය* ප්‍රකාරව, පාලින්දනුවර ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය සඳහා 2018 වර්ෂයට අදාළව සේවා සඳහා ගාස්තු නියම කිරීම පහත සඳහන් ආකාරයට විය යුතු බවට තීරණය කරමි.

| *අනු. අංකය* | *කාරණය* | | | *රු. ශත* |
|---|---|---|---|---|
| | වීථි හා ප්‍රසිද්ධ ස්ථානවල සිදුකරන සැරසිලි ඉල්ලුම්පත්‍ර | | | 50 0 |
| | සංචාරක වෙළෙඳාම ඉල්ලුම්පත්‍ර | | | 50 0 |
| | ක්‍රීඩා භූමි පරිහරණය කිරීම ඉල්ලුම්පත්‍ර | | | 50 0 |
| | වීථි හා ප්‍රසිද්ධ ස්ථානවල සිදුකරන සැරසිලි සඳහා අවසර පත්‍ර : | | | |
| | | I. | දින 10 ක් සඳහා | 500 0 |
| | | II. | දින 10 ට වැඩිවන සෑම දිනයක් සඳහාම (දිනකට) : | 100 0 |
| | සංචාරක වෙළෙඳාම අවසර පත්‍ර | I. | දිනකට | 500 0 |
| | | II. | වර්ෂයකට | 1,000 0 |
| | ක්‍රීඩා භූමි පරිහරණ අවසර පත්‍ර ගාස්තුව (දිනකට) | | | |
| | | I. | සැණකෙළි සඳහා | 2,000 0 |
| | | II. | සංගීත සංදර්ශන සඳහා | 5,000 0 |
| | | III. | වෙනත් උත්සව සඳහා | 2,000 0 |
| | | IV. | තැන්පත් මුදල | 3,000 0 |

කේ. ඒ. ඩී. එස්. එස්. කුඹලාතර,
ලේකම් හා සභාවේ කාර්ය, කර්තව්‍ය සහ
බලතල ක්‍රියාත්මක කරන නිලධාරි,
පාලින්දනුවර ප්‍රාදේශීය සභාව.

01 - 62/13

## වීරකැටිය ප්‍රාදේශීය සභාව

2018 වර්ෂයට ප්‍රචාරක දැන්වීම් පුවරු ප්‍රදර්ශනය කිරීම සඳහා ගාස්තු පැනවීම

වීරකැටිය ප්‍රාදේශීය සභාවේ බලතල ක්‍රියාත්මක කරන කාර්යය, කර්තව්‍ය ඉටුකරන වීරකැටිය ප්‍රාදේශීය සභාවේ ලේකම් ජී. ඒ. නදීකා දිල්හානි වන මම 1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ 9(3) වගන්තිය සමග කියවිය යුතු එකී පනතේ 122 වන වගන්තිය පැවරී ඇති බලතල හා 1988.08.23 දිනැති අංක 520/7 දරන *අතිවිශෙෂ ගැසට් පත්‍රයේ* සම්මත අතුරු ව්‍යවස්ථාවෙ 39 වැනි කොටසින් ප්‍රචාරක දැන්වීම් පුවරු/දෘශ්‍ය පරිසර පිළිබඳ අතුරු ව්‍යවස්ථාවේ විධිවධාන වලින් ප්‍රාදේශීය සභාවට පැවරී ඇති බලතල ප්‍රකාරව වීරකැටිය ප්‍රාදේශීය සභා බලප්‍රදේශය තුළ යම් වීදියකට/පාරකට/ඇලකට/දොළකට/වැවකට/මුහුදකට හෝ අහසකට පෙනෙන පරිදි දැන්වීම් ප්‍රදර්ශනය කිරීම වෙනුවෙන් පහත උපලේඛනයේ දැක්වෙන පරිදි ගාස්තුඅයළ යුතු යැයි වීරකැටිය ප්‍රාදේශීය සභාවේ ලේකම් ජී.ඒ. නදීකා දිල්හානි වන මම තීරණය කරමි. (තීරණ අංක 3181)

උපලේඛනය

| | |
|---|---|
| තාවකාලික (මසකට අඩු දැන්වීම්/බැනර්/ප්‍රචාරක දැන්වීම් සඳහා | වර්ග අඩිකට රු. 55.00 |
| මසකට වැඩි දැන්වීම් පුවරු සඳහා | වර්ග අඩියකට රු. 82.50 |

ජී. ඒ. නදීකා දිල්හානි,
ලේකම්,
ප්‍රාදේශීය සභාව වීරකැටිය.

01-166

---

## ගලේවෙල ප්‍රාදේශීය සභාව

2018 වර්ෂය සඳහා පෝරම ගාස්තු, සේවා ගාස්තු සහ ඇප තැන්පත් පැනවීම

ගලේවෙල ප්‍රාදේශීය සභාව 208.0101 සිට නැවත සංශෝධනය කරන තුරු සේවා සැපයීම, සඳහා පහත උපලේඛන වල සඳහන් පරිදි පෝරම ගාස්තුවක් සේවා ගාස්තුක් පනවා අය කිරීමටත් ඇතැම් සේවා සැපයීම වෙනුවෙන රඳවාගත් ඇප මුදලක් පනවා අය කිරීමටත් 2017.10.19වැනි දින පැවති කළමනාකරණ කමිටු රැස්වීම් දී තීරණයකර ඇති බව මහජනතාව වෙත මෙයින් නිවේදනය කරනු ලැබේ.

ජී. ඒ. ඩී. ඩබ්ලිව් මෙන්ඩිස්,
ලේකම් *(වැ.බ.)*
ගලේවෙල ප්‍රාදේශීය සභාව.

2017 ඔක්තෝබර් මස 20 වැනි දින,
ගලේවෙල ප්‍රාදේශීය සභා කාර්යාලයේ දී ය.

යෝජනාව

1987 අංක 15 දරන ප්‍රාදේශීය සභා පනතේ ගලේවෙල ප්‍රාදේශීය සභාවට පැවරී ඇති බලතල අනුව සේවා සැපයීම සඳහා පෝරම ගාස්තුවක්, සේවා ගාස්තුවක් සහ ඇතැම් සේවා සැපයීම වෙනුවෙන් දේපළවල ආරක්ෂාව සඳහා රඳවාගත් ඇප මුදලක් 2018.01.01 සිට නැවත සංශෝධනය කරන තුරු අය කිරීමටත්, ප්‍රාදේශීය සභා පනතේ අංක 21, 49, 78 වැනි වගන්තිවලින් පැවරී ඇති බලතල ප්‍රකාර 1988.08.23 වැනි දින අංක 520/7 දරන පළාත් පාලන *අති විශෙෂ ගැසට් පත්‍රයේ* (IV) (ආ) කොටසේ ගරු ඇමතිතුමා විසින් ප්‍රකාශයට පත් කරන ලදුව (260 වැනි අධිකාරය වන) නිවස හා නගර සංවර්ධන ආඥාපනතේ වගන්ති වලින් පැවරි ඇති බල ප්‍රකාරව 2018.01.01 සිට නැවත සංශෝධනය කරන තුරු ගලේවෙල ප්‍රාදේශීය සභා බල සීමාව තුළ ගොඩනැගිලි ඉදි කිරීම් සඳහා වර්ග අඩි ප්‍රමාණය අනුව ගාස්තු අය කිරීමටත්, ගලේවෙල ප්‍රදේශීය සභා බල ප්‍රදේශය තුල කරනු ලබන ඉදි කිරිම් සඳහා ගොඩනැගිලි ඉදි කිරීමේ අයදුම්පතක් හා පිඹුරුපතක් හා පිඹුරුපත් අනුමත කිරීමේ අයදුම්පතක් සභාවට ඉදිරිපත් කර අනුමැතිය ලබාගත යුතු බවත්,ගලේවෙල ප්‍රාදේශීය සභාවේ කළමනාකරණ කමිටුව විසින් පනවා අය කිරීමටත් යෝජනා කර සිටියි.

උපලේඛනය I

සේවා ගාස්තු හා ඇප තැන්පත් අයකිරීම 2018

| අනු අංකය | කාරණය | 2018 වර්ෂයේ අය කිරීම |
|---|---|---|
| 01 | පිඹුරුපත් අනුමත කිරීමේ ඉල්ලුම්පත් ගාස්තු | 750 0 |
| 02 | ගොඩනැගිලි ඉල්ලුම්පත්‍ර ගාස්තු | 750 0 |
| 03 | ගොඩනැගිලි සැලසුම් කාලය දීර්ඝ කිරිම | |
| | I. පළමු වර්ෂය සඳහා | 500 0 |
| | II. වැඩිවන සෑම වර්යක් සඳහාම (උපරිම වර්ෂ 03යි) | 250 0 |
| 04 | පිඹුරුපත අනුමත කිරීමේ ගාස්තු | 1,500 0 |
| 05 | ගොඩනැගිලි සැලසුම් අනුමත කිරීමේ ගාස්තු | උපලේඛනය අමුණා ඇත. |
| 06 | අනුකූලතා සහතික නිකුත් කිරීම | 1. නේවාසික 2,000 0 |
| | | 2. ව්‍යාපාර/නේවාසික/වෙනත් 3,000 0 |
| 07 | දුරකතන කුළුණු ඉදි කිරීමේ ගාස්තු | 75,000 0 |
| 08 | කොඩි බට කුලියට දීම (එක් දිනකට එක් බටයක් සඳහා) | 50 0 |
| 09 | ප්ලාස්ටික් පුටු කුලියට ලබා දීම (එක් දිනකට එක් පුටුවක් සඳහා) | 5 0 |
| 10 | * බට හෝ පුටු කුලියට දීම සඳහා ඇප තැන්පත් | |
| | * බට හෝ පුටු 10 දක්වා ඇපය | 1,000 0 |
| | * බට හෝ පුටු 10-25 දක්වා ඇපය | 2,500 0 |
| | * බට හෝ පුටු 25-50 දක්වා ඇපය | 4,000 0 |
| | * බට හෝ පුටු 50-100 දක්වා ඇපය | 5,000 0 |
| | * බට හෝ පුටු 100 ට වැඩි ඇපය | 7,500 0 |
| | | |
| 11 | වාහන කුලියට දීම | |
| | 1. මෝටර් ග්‍රේඩරය මීටර් පැය 01ට | |
| | * ප්‍රාදේශීය සභා බලප්‍රදේශය තුළ අවම පැය 02යි | 3,500 0 |
| | * බල ප්‍රදේශයෙන් පිට අවම පැය 03 යි | |
| | II. මාර්ග තලන යන්ත්‍රය - මීටර් පැය 01ට | 3,500 0 |
| | * නගර සීමාව තුළ අවම පැය - 02යි | |
| | * ප්‍රාදේශීය සභා බල ප්‍රදේශය තුළ අවම පැය 03 යි | 2,500 0 |
| | * කොට්ඨාසයෙන් පිටත අවම පැය - 04 යි | |
| | | |

| අනු අංකය | කාරණය | 2018 වර්ෂයේ අය කිරීම |
|---|---|---|
| | ප්‍රවාහනය | 1,500 0 |
| | * නගර සීමාව තුළ- අනිවාර්ය ගාස්තු පමණි | |
| | * නගර සීමාව පිටත<br>1. අනිවාර්ය ගාස්තු- 1,500 .00<br>යෑම- ඊම දෙකටම කිලෝ මීටරයට රු.90 බැගින් | 1,500.00 + කිලෝ මීටර් ගණන අනුව |
| . | III. බැකෝ ලෝඩරය - මීටර් පැය 01ට<br>කොට්ඨාසය තුළ අවම පැය - 02යි<br>කොට්ඨාසයෙන් පිට අවම පැය 03 යි | 3,500.00 |
| | IV. ජල බවුසරය කුලිය දීම<br>1. ලොකු බවුසරය (බවුසර් ලෝඩ් 01ක් )<br>*ප්‍රවාහනය*<br>* නගර සීමාවේ ප්‍රවාහන ගාස්තු නැත<br>* නගරයෙන් පිට යෑම-ඊම දෙකටම කි. මී. 01කට රු. 90 බැගින් | |
| | කුඩා බවුසරය (බවුසර ලෝඩ් 01 ක්<br>*ප්‍රවාහනය*<br>* නගර සීමාවේ ප්‍රවාහන ගාස්තු නැත<br>* නගරයෙන් පිට යෑම - ඊම දෙකටම කි. මී. 01 කට රු. 90 බැගින් | 1,500.00 කිලෝ මීටර් ගණන අනුව |
| '12 | නළ ළිං ලියාපදිංචි කිරීමේ ගාස්තු<br>(වසර 01කට) | 200 0 |
| 13 | ජල ඉල්ලුම්පත්‍ර ගාස්තු (ඉල්ලුම්පත්‍ර 01කට ) | 100 0 |
| 14 | විථි රේඛා සහ නොපවරාගැනීමේ සහතික නිකුත් කිරීම | 1,250 0 |

"

උපලේඛනය II

ගොඩනැගිලි සැලසුම් අනුමත කිරීමේ ගාස්තු අය කිරීම - 2018

| | | | |
|---|---|---|---|
| වරිපනම් බදු සීමාව තුළ | 1. නිවාස සඳහා | 1. බිම් මහල | 4.00 |
| | | 2. පළමු මහල | 3.00 |
| | | 3. උඩ හෝ යටට අමතර මහල් සඳහා | 2.00 |
| | 2. ව්‍යාපාර හෝ වෙනත් භාවිතයන් සඳහා | 1. බිම් මහල | 7.00 |
| | | 2. පළමු මහල | 6.00 |
| | | 3. උඩ හෝ යටට අමතර මහල් සඳහා | 5.00 |
| වරිපනම් බදු සීමාවෙන් පිටත | 1. නිවාස සඳහා | 1. බිම් මහල සඳහා | 300 |
| | | 2. පළමු මහල සඳහා | 2.00 |
| | | 3. උඩ හෝ යටට අමතර මහල් සඳහා | 1.00 |
| | 2. ව්‍යාපාර හෝ වෙනත් භාවිතයන් සඳහා | 1. බිම් මහල | 5.00 |
| | | 2. පළමු මහල සඳහා | 3.00 |
| | | 3. උඩ හෝ යටට අමතර මහල් සඳහා | 2.00 |

උපලේඛනය III

ගොඩනැගිලි සැලසුම් අනුමත කිරීම් ගාස්තු අය කිරීම - 2018

| *විස්තරය* | *දින ගණන* | *මුදල (රු.)* |
|---|---|---|
| වේදිකා නාට්‍ය | දින 01 ක් (පවත්වන දර්ශන වාර 02 ක් සඳහා) | 20,000 |
| සංගීත සංදර්ශන | දින 01 ක් (පවත්වන දර්ශන වාර 02 ක් සඳහා) | 20,000 |
| සම්මන්ත්‍රණ/දේශන/ප්‍රදර්ශන/වැඩමුලු/රැස්වීම් | දින 01 ක් සඳහා | 10,000 |
| අධ්‍යාපනික රැස්වීම්/වැඩ සටහන් (පාසල් සහ පෙර පාසල්) | දින 01 ක් සඳහා | 5,000 |

* සියලුම ලබා දීම් සඳහා රු. 5,000 ක ඇප තැන්පතුවක් අය කරනු ලැබේ

* වේදිකා නාට්‍ය/සංගීත සංදර්ශන දර්ශන වාර 02කට වැඩිවන විට රු. 5,000 බැගින් ගෙවිය යුතුය.

මහජන ක්‍රීඩාංගනය කුලියට දීම - 2018

| *විස්තරය* | *දින ගණන* | *මුදල (රු.)* |
|---|---|---|
| සංගීත සංදර්ශන | දින 01ක් සඳහා | 20,000 |
| ක්‍රීඩා හා ක්‍රීඩා උත්සව | දින 01 ක් සඳහා | 5,000 |

01-142

---

සංශෝධනයයි

**මීගමුව මහා නගර සභාව**

ප්‍රචාරක දැන්වීම් ප්‍රදර්ශනය සඳහා ගාස්තු අය කිරීම

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ 2017.04.12 වැනි දිනැති අක 2,015 දරන *ගැසට් පත්‍රයේ* IV (ආ) වැනි කොටසේ විවිධ දැන්වීම් යටතේ 04-277හි පළ වූ ඉහත සඳහන් ප්‍රචාරක දැන්වීම් ගාස්තු අය කිරීමට අදාළ *ගැසට් නිවේදනය* පහත සඳහන් පරිදි නිවැරදි කරනු ලැබේ.

1952 අංක 06 දරන පළාත් පාලන ආයතන (සම්මත අතුරු ව්‍යවස්ථා) පනත් 2 වන වගන්තිය යටතේ පළාත් පාලන අමාත්‍යතුමන් විසින් සම්පාදනය කරනු ලැබූ ශ්‍රී ලංකා ප්‍රජාතානත්‍රික සමාජවාදී ජනරජය් අංක 541/17 දරන හා 1989.1.20 දින දරන *අතිවිශෙෂ ගැසට් පත්‍රයේ* පළ කර ඇති සම්මත අතුරු ව්‍යවස්ථාව අංක 1,202 හා 2001 සැප්තැම්බර් මස 14 දිනැති *ගැසට් පත්‍රයේ* පළ කිරීමෙන් මීගමුව මහා නගර සභාව විසින් පිළිගෙන ඇති එකී සම්මත අතුරු ව්‍යවස්ථාවෙහි XXXIX වන කොටසේ II කොටසෙහි ප්‍රචාරක දැන්වීම් අතුරු ව්‍යවස්ථාව අනුව බලතල කාර්ය හා කර්තව්‍ය ක්‍රියාත්මක කිරීමේ නිලධාරි වශයෙන් මහා නගර සභා ආඥපනතේ 286 (අ) වගන්තිය ප්‍රකාර, නාගරික කොමසාරිස් විසින් 2016.12.07 දිනැතිව තීරණ අංක 340ට අනුව පහත තීරණය ගෙන ඇති බව මහජනතාව වෙත මෙයින් නිවේදනය කරනු ලැබේ.

කේ. එස්.සී. සුගත් කුමාර,<br>
නාගරික කොමසාරිස්,<br>
බලතල, කාර්යය. කර්තව්‍ය<br>
ක්‍රියාත්මක කිරීමේ නිලධාරි,<br>
මහා නගර සභාව,<br>
මීගමුව.

මීගමුව මහා නගර සභා බල ප්‍රදේශයේ ප්‍රදර්ශනය කරනු ලබන ප්‍රචාරක දැන්වීම් සඳහා 2017 වර්ෂයට මෙහි උපලේඛන 1 හා II හි සඳහන් ආකාරයට ගාස්තු අය කරනු ලබන බව මෙයින් නිවේදනය කරනු ලැබේ. (රජයේ බදු ඇතුළුව)

**උපලේඛන I**

| *අනු. අංකය* | *පුවරුවේ ස්වභාවය* | *වර්ග අඩි ප්‍රමාණය* | *වසරක් හෝ වසරකට අඩු කාලයක් සඳහා (රුපියල්)* |
|---|---|---|---|
| 01 | එල්. ඊ. ඩී. තිර යොද ගෙන තමන්ගේ වෙළඳ ව්‍යාපාරය ප්‍රචාරය කිරීමේ පුවරුවක් සඳහා | 1ට | 500 |
| 02 | එල්. ඊ. ඩී. තිර යොදගෙන ව්‍යාපාරික වශයෙන් වෙනත් අයගේ ව්‍යාපාර ප්‍රචාරය කිරීමේ පුවරුවක් සඳහා | 1ට | 1,000 |
| 03 | ආලෝකමත් නොකළ ප්‍රචාරක දැන්වීම් පුවරුවක් සඳහා | 1ට | 50 |
| 04 | ආලෝකමත් කළ ප්‍රචාරක දැන්වීම් පුවරුවක් සඳහා | 1ට | 100 |
| 05 | පෞද්ගලික ඉඩම් මත හා ගොඩනැගිලි මත ප්‍රදර්ශනය කරන කටවුට් සඳහා | 1ට | 200 |

**උපලේඛන II**

| *අනු. අංකය* | *ප්‍රචාරක දැන්වීමේ ස්වභාවය* | *වර්ග අඩි ප්‍රමාණය* | *දින සඳහා (රුපියල්)* | *සති සඳහා (රුපියල්)* | *මාස සඳහා (රුපියල්)* |
|---|---|---|---|---|---|
| 01 | බැනර් සඳහා | 1ට | | සති 02 සඳහා රු. 30 | මාසයක් සඳහා රු. 40 මසකට වැඩි රු. 50 |
| 02 | කණුවල සවි කරන කොඩි සඳහා | 1ට | ප්‍රථම දින සිට දින 03 ක් දක්වා රු. 15 | සති 01 සඳහා රු. 20 සති 02 සඳහා රු.25 | |

01-99

---

සංශෝධනයයි

**මතුගම ප්‍රාදේශීය සභාව**

2017. 11. 30 දින අංක 2048 දරන *ගැසට් පත්‍රයේ* නිවේදන අංක 11-1206/3 හි

අනු අංක 78 දුරකථන කුළුණු පවත්වාගෙන යාම ලෙස සඳහන් වී ඇත.

එය අනු අංක 78 දුරකථන කුළුණු හා සන්නිවේදන උපකරණ සවිකර පවත්වාගෙන යාම ලෙස සංශෝධනය විය යුතුයි.

අසෝක රණසිංහ,
ලේකම් හා මතුගම ප්‍රාදේශීය සභාවේ බලතල, කාර්ය,
කර්තව්‍යය ක්‍රියාත්මක කිරීමේ නිලධාරී,

2017 දෙසැම්බර් මස 22 වැනි දින,
මතුගම ප්‍රාදේශීය සභාව.

01-246

---

ශ්‍රී ලංකා රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ මුද්‍රණය කරන ලදී.